

# උත්තරීතර හුදෙකලාව

කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු

# උත්තරීතර හුදෙකලාව

## (භද්දේකරත්ත සූත්‍රයෙහි අර්ථ විවරණයෙකි)

## IDEAL SOLITUDE

නමැති ග්‍රන්ථයේ සිංහල අනුවාදයයි

කටුකුරුන්දේ ඤාණනන්ද හිමි

ISBN 955-8832-19-7

පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන්කැනුව'
කන්දේගෙදර
දේවාලේගම

2003

ප්‍රකාශනය
ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය
මහා භාරකාර දෙපාර්තමේන්තුව

ධම්දානයකි

මුදලට විකිණීම සපුරා තහනම් වෙයි.

ප්‍රථම මුද්‍රණය - 2001 ජනවාරි

දෙවන මුද්‍රණය - 2003 අගෝස්තු

පොත ලබාගත හැකි ස්ථාන

1. පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව' කන්දේගෙදර, දේවාලේගම.

2. ජී. ටී. බණ්ඩාර මහතා
රෝයල් ඉන්ස්ටිටියුට්,
191, හැව්ලොක් පාර,
කොළඹ 5.

3. ඩී.ටී. වේරගල මහතා
422, වැලිපාර,
තලවතුගොඩ.

4. 'පියමෙත් සිල් සෙවන'
විලේකුඹුර, මීසිරිගල

5. මහා භාරකාර දෙපාර්තමේන්තුව
2, බුලර්ස් පටුමග,
කොළඹ 07.

මුද්‍රණය

කොලිටි ප්‍රින්ටර්ස්
17/2, පැගිරිවත්ත පාර, ගංගොඩවිල,
නුගේගොඩ.
දුරකතනය: 074-302312

# පෙර වදන
## (ප්‍රථම මුද්‍රණය)

චිත්ත විමුක්තියට අතිශයින්ම උපකාරවන ධර්මෝපදේශයක් වටා ගෙතුණු භද්දෙකරත්ත සූත්‍රයෙහි අපි විවරණයක් මෙයට තිස්වසරකට පමණ පෙර අප අතින් ඉංග්‍රීසි බසින් සකස් වූනි. එය මහනුවර බෞද්ධ ග්‍රන්ථ ප්‍රකාශන සමිතියේ 'ධර්මචක්‍ර' (*Wheel*) ග්‍රන්ථ මාලාවේ 188 වෙනි ග්‍රන්ථය වශයෙන් **Ideal Solitude** නමින් 1973 දී පළවිය.

කලකට පසුව, පොතට සිංහල අනුවාදයක් සැපයීමේ අදහසින් උප්පලවණ්ණා නමැති සිල්මාතාව දැරූ මූලික ප්‍රයත්නයක්, අපවත්වී වදාළ අතිපූජ්‍ය පියදස්සි මාහිමිපාණන් වහන්සේ විසින් අප වෙත යොමු කරන ලදුව, ඉංග්‍රීසි පොතට අනුකූලවම සම්පූර්ණ සිංහල අනුවාදයක් සකස් කළෙමු. එය 'උත්තරීතර හුදෙකලාව' නමින් 1990 දී 'දම්සක්' (අංක 172/173) පොත් පිංචක් ලෙස නිකුත් විය.

'උත්තරීතර හුදෙකලාව' ධර්මදානයක් ලෙස මුද්‍රණය කරවා බෙදාහරිනොත් මැනවැයි දේවාලේගම සැදැහැවත් එස්.ඒ. රාමනායක උපාසිකා මහත්මිය කළ ආරාධනාව අනුව ඒ මහත්මියගේ මූලික අනුග්‍රහයෙන් මෙවර එය 'ධර්මග්‍රන්ථ මුද්‍රණ භාරය' යටතේ පළකිරීමට තීරණය කළෙමු. එමගින් වැඩි පාඨක පිරිසක් අතට පොත නොමිළයේම පත්වනු ඇතැයි සිතමු. නිවනට නැමුනු සිතැතියනට විමුක්ති රසය දනවන මෙම කෘතිය සැකසීමට හා එළිදැක්වීමට අපව දිරිමත් කළ සැමටම පරම ශාන්ත උතුම් අමා මහ නිවන් සුව පතමු.

මෙයට,
සදහම් ලැදි
**කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු**

පොත්ගුල් ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව'
කන්දේගෙදර
දේවාලේගම
2001 ජනවාරි 7 (2544)

# ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය

ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පළ කරනු ලබන "නිවනේ නිවීම" පොත් පෙළෙහි සයවැනි වෙළුම දක්වා මුද්‍රණය කිරීමේ සම්බන්ධීකරණය මැනක් වනතුරු කරන ලද්දේ ශ්‍රී ලංකාවේ මහාභාරකාර තනතුර දැරූ යූ. මාපා මහතා විසිනි. ඉතා ගැඹුරු ධර්ම කරුණු සහිත එම වටිනා දහම් පොත් පෙළ එළි දැක්වීමට හැකිවූයේ ඒ මහතාගේ අප්‍රතිහත ධෛර්යය නිසාමය.

මෙම පොත් පෙළෙහි හත්වැනි වෙළුම මුද්‍රණයට සකස් වෙමින් තිබෙන අවස්ථාවේදී මාපා මහතාට ශ්‍රී ලංකා ජනරජයේ තානාපති ලෙස මියන්මාර් (බුරුමය) දේශයට යෑමට සිදුවිය. ථෙරවාදී බුදු දහම නිර්මලව පවතින එවැනි දේශයකට පත් වී යෑම හුදෙක් ඒ මහතාගේ ශාසනික සේවයේ තවත් පියවරක් ලෙස දකිමු.

මාපා මහතා විසින් එසේ නික්ම යාමට පෙර, "නිවනේ නිවීම" සෙසු කාණ්ඩ මුද්‍රණය කිරීමේ කටයුතු කිසිදු බාධාවකින් තොරව කරගෙන යාම පිණිස, අති පූජ්‍ය කටුකුරුන්දේ ඤාණනන්ද ස්වාමීන් වහන්සේගේ මෙම දේශනාවල අගය දන්නා අප කීපදෙනෙක් මහාභාරකාර කාර්යාලය වෙත කැඳවා, ඒ පිළිබඳව වැඩ පිළිවෙළක් සකස් කරන ලදී. එම ක්‍රියා පිළිවෙළ අනුව "නිවනේ නිවීම" දේශනා මාලාව සහ ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පළකරනු ලබන "පහන් කණුව ධර්ම දේශනා" ග්‍රන්ථ එපරිද්දෙන්ම ඉදිරියේදී පළකෙරෙනු ඇත.

මෙම උතුම් ශාසනික සේවය ඉටු කිරීමට මාහට එම භාරයේ ස්ථාපක වශයෙන් මෙතැන් සිට වගකීම පැවරී තිබේ. එම මහඟු කාර්යය ඉෂ්ට කරගැනීම පිණිස ඒ පිළිබඳව උනන්දුවක් දක්වන සියලුම බැතිමත් දායක දායිකාවන්ගේ අනුග්‍රහය අපි බලාපොරොත්තු වෙමු.

මෙම ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරයට එවනු ලබන ආධාර ශ්‍රී ලංකාවේ මහා භාරකාරතැන නමින් පහත සඳහන් ලිපිනයට එවිය හැක.

ජී.ටී. බණ්ඩාර,

ස්ථාපක,
ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය
රෝයල් ඉන්ස්ටිටියුට්,
191, හැව්ලොක් පාර, කොළඹ 5.
1999 ඔක්තෝබර් 25 වැනි දින.

# අමා ගඟ

මහවැලි ගඟ උතුරට හැරවීමෙන් පසු එතෙක් නිසරු මුඩු බිම් ලෙස පැවති පෙදෙස්වල සිදුවූයේ ඉමහත් වෙනසෙකි. පිපාසයට පැන්බිඳක් නොලබා සිටි ගොවීහු පෙදෙස පුරා නිහඬව ගලා යන සිසිල් දිය දහරින් පිනා ගියහ. මැලවුණු ගොයම සරුව නිල්වන්ව කරලින් බර විය. මල් පලින් ගැවසීගත් තුරු-ලිය බලා සැනසෙන පෙදෙස් වැසියෝ තුටු කඳුළු වගුළහ.

දහම් අමා ගඟ "උතුරට" හැරවීමේ වැඩ පිළිවෙළක් මෙයට සොවසරකට පෙර ඇරඹුණි. දහම් පත-පොත තබා "එදා-වේල" සඳහා වත් විය පැහැදම් කිරීමට වත්-කමක් නැත්තෝ, නිහඬව නොමිලයේ ගලායන අමිල දහම් අමා දිය දහරින් සදහම් පිපාසය සන්සිඳුවා ගත්හ. අරිටු මිසදිටු හැර, සැදැහැයෙන් සරුව, ගුණ නුවණින් බරව පිළිවෙත් මඟට නැමී ගත්හ. ලොවී - ලොවුතුරු මල් පල නෙලා ගනිමින් හද පුරා පිරි බැතියෙන් නන් අයුරින් සොම්නස පළකළහ.

"ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය" නමින් දියත් කළ මෙම ධර්මදාන වැඩපිළිවෙල සඳහා අපගෙන් වැයවූයේ පිරිසිදු ධර්මදාන සංකල්පය පමණි. අමාගඟ "උතුරට" හැරවූවෝ සසුන් ගුණ හඳුනන පරිත්‍යාගශීලී සැදැහැවත්හුමය. "නිවනේ නිවීම" පොත් පෙළ එළි දැක්වීමෙන් නොනැවතී "පහන් කණුව ධර්මදේශනා" පොත් පෙළෙහි "බර පැන" දැරීමටත්, දෙස් - විදෙස්වල දහම් පිපාසිතයින් උදෙසා අප අතින් ලියැවෙන අනිකුත් පොත - පත ඒ අයුරින්ම එළි දැක්වීමටත් ඔවුහු උත්සුක වූහ. "දෙන දේ පිරිසිදුවම දීමේ" අදහසින් අමිල වූ දහම ඊට නිසි ශෝභන මුද්‍රණයකින්ම ධර්මකාමීන් අතට පත් කිරීමට පියවර ගත්හ. මුද්‍රිත පිටපත් සංඛ්‍යාව අවසන්වනු හා සමගම "නැවත මුද්‍රණ" පළකිරීමෙන් දහම් අමා ගඟ වියළී යා නොදීමට දැඩි අදිටනකින් ඇප කැපවූහ.

"පොත් අලෙවිය" පිළිබඳව මෙකල බහුලව දක්නට ලැබෙන වාණිජ සංකල්පයට පිටුපා, තහංචිවලින් තොරව, තමන් අතට නොමිලයේම පත් කැරෙන "දහම් පඬුර" තුළින් ධර්මදාන සංකල්පයෙහි අගය වටහා ගත් බොහෝ පාඨක පින්වත්හු තමන් ලද රස අහරක්, නෑ-හිතවතුන් සමග බෙදා-හදා ගන්නාක් මෙන් නොමසුරුව අන් දහම් ලැදියනටද දී ධර්ම

දානයට සහභාගී වූහ. ඉනුදු නොනැවතී, ශක්ති පමණින් "ධර්ම ග්‍රන්ථ මුද්‍රණභාරයට" උරදීමටද ඉදිරිපත්වූහ, ඇතැමෙක් ලොකු කුඩා දහම් පොත් මුද්‍රණය කරවීමේ හා නැවත-නැවත මුද්‍රණය කරවීමේ බරපැන ඉසිලීමට පවා පසුබට නොවූහ.

සම්බුදු සසුන මේ ලක් පොළොවෙහි පවතින තාක් මේ දහම් අමාගඟ ලෝ සතුන් සිත් සනහමින් නොසිඳී ගලා යේවා යනු අපගේ පැතුමයි.

"සබ්බදානං ධම්මදානං ජිනාති"

මෙයට,

සදසුන් ලැදි

**කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු**

පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව'
කන්දේගෙදර, දේවාලේගම
2000 ජූනි 05 (2544 පොසොන්)

# උත්තරීතර හුදෙකලාව

## දෙවන මුද්‍රණය

පිටපත් 5000 ක මෙම දෙවන මුද්‍රණය එළිදැක්වෙනුයේ නොබෝදා පරලෝසැපත් සිය පියාණන් වන ජී. ලොකුබණ්ඩාර මහතාට සහ වයෝවෘද්ධ සිය මෑණියන් වන ජී. ටිකිරිමැණිකේ මහත්මියට පින් පිණිස ධර්ම ග්‍රන්ථ මුද්‍රණභාරයේ ස්ථාපක ජී.ටී. බණ්ඩාර මහතා ඇතුළු දූ දරු පිරිස විසිනි. අසීමිත මා පිය සෙනෙහසකට උපහාර වශයෙන් අමිල වූ ධර්මය නොමිලේ බෙදාදීමෙන් ජනිත කුශලශක්තිය ඔවුන් හැමගේම පරම ශාන්ත නිර්වාණාවබෝධය පිණිස හේතු වාසනා වේවායි පතමු.

- සම්පාදක

2003 අගෝස්තු 31

# පටුන

සැඩ ගංවතුරු හමුවෙහි

ජර - මරු දෙදෙන වසයෙහි

විළ මැද සිටින සත හට

කිව මැන - කිම් ද දිවයින

එ වන් අනෙකක් නැති සෙයින්

නිදුකාණෙනි,

දිවයින මෙ මට කිව මැන.....'

කප්පමාණව පුච්ඡා - සු.නි.ගා. 1097

## සංඥාපනය

භද්දේකරත්ත සූත්‍රය:

මජ්ඣිම නිකායේ භද්දේකරත්ත සූත්‍රය (අංක 131) උද්දෙස ගාථා සතරකින් හා විභංගයකින් සමන්විත වූවකි. එහි ඇතුළත් ධර්ම කරුණු මනෝවිද්‍යාව සහ ආචාර විද්‍යාව අතින් සැලකිය යුතු වැදගත් කමකින් යුක්තය. මෙම සූත්‍රයෙන් බුදුරජාණන් වහන්සේ ඉදිරිපත් කරන තේමාවම, ආනන්ද භද්දේකරත්ත සූත්‍රය, මහා කච්චාන භද්දේකරත්ත සූත්‍රය, ලොමසකඞ්ගිය භද්දේකරත්ත සූත්‍රය යන තවත් සූත්‍ර තුනකටම තේමාව වශයෙන් සිටී. මේ පසුව කී සූත්‍ර තුනෙහි ඒ ඒ නම් ඇති ශ්‍රාවකයා ප්‍රධාන චරිතය වේ. අනුපිළිවෙළින් පිහිටි මේ සූත්‍ර සතර (අංක 131 - 134) එම විශේෂ සන්දර්භය නිසාම මැදුම් සඟියේ සූත්‍ර අතර ඉස්මතු වී පෙනෙයි. එසේ ම එය තේමාවේ වැදගත්කම විදහාපාන ලක්ෂණයක් ද වේ. මහා කච්චාන භද්දේකරත්ත සූත්‍රයේ හා ලොමසකඞ්ගිය භද්දේකරත්ත සූත්‍රයේ සැලැස්ම, තේමාව බෙහෙවින් උසස් කොට සලකන ලද්දක් බවට පැහැදිලි සාධකයෙකි. ඒ සූත්‍ර දෙකෙහි ම, යම්කිසි භික්ෂූන් වහන්සේ කෙනකුන් ඉදිරියෙහි දේවතාවෙක් පෙනී සිට, භද්දේකරත්තයේ උද්දේසයත්, විභංගයත් ඉගෙන ගන්නා ලෙස මෙසේ ආරාධනා කරයි.

"මහණ, ඔබ භද්දේකරත්තයා පිළිබඳ උද්දේසය හා විභංගය ඉගෙනගන්න.

මහණ, ඔබ භද්දේකරත්තයා පිළිබඳ උද්දේසය හා විභංගය කට පාඩම් කරගන්න.

මහණ, ඔබ භද්දේකරත්තයා පිළිබඳ උද්දේසය හා විභංගය දරාගන්න.

මහණ, භද්දේකරත්තයා පිළිබඳ උද්දේසය හා විභංගය යහපතක්ම කෙරේ. එය පැවිදි ජීවිතයේ මූලික ශික්ෂණයට අදාළය."

මාතෘකාව ගැටළුවකි:

මේ සූත්‍ර සතරෙහි තේමාව මෙසේ ඉතා උසස්කොට සළකන ලද නමුදු, ඒවායේ වැදගත්කම පිළිබඳව තිසියාකාර ඇගැයුමක් කිරීමට එක් ප්‍රබල බාධකයක් ඇත. එනම්, මාතෘකාව මෙන්ම සූත්‍රයේ ප්‍රධාන අර්ථසූචක වචනය වන 'භද්දේකරත්ත', යන්න තවම ගැටළුවක්ව තිබීමයි. ආනන්ද, මහාකච්චාන යන ස්වාමීන්වහන්සේලා දෙනම ම මෙහි තේමාවට විවරණ සපයා ඇතත්, සූත්‍ර සතරෙන් එකකවත් මේ වචනය විග්‍රහවී නැත. ඊට හේතුව, බුද්ධ කාලීන ශ්‍රාවකයනට මේ යෙදුම හුරුපුරුදු එකක්ව තිබුණ නිසා විය හැකිය. සමිද්ධි හා ලෝමසකංගිය යන ස්වාමීන් වහන්සේලා දෙනම ද, භද්දේකරත්තයාගේ උද්දෙසය හා විභංගය පිළිබඳ ව දෙවියන් විසින් ප්‍රශ්න කරන ලදුව තම නොදැනුම පළ කළත්, පසුව බුදුරදුන් වෙත එළඹ ඒ කරුණු ගැන විචාරණ විට අප උදෙසාවත් මේ ගැටමුසු යෙදුම නිරාකරණය කරවා ගැනීමට කල්පනා කර නැති සේය.

අටුවාවන්හි 'භද්දේකරත්ත' යන්න තේරුම් කිරීමට යම්කිසි උත්සාහයක් ගෙන ඇත. එහෙත් ඇතැම් උගතුන් ඒ අටුවා විවරණයන් ගේ පිළිගත හැකි බව ගැන ප්‍රශ්න නඟා ඇත. අයි.බී. හෝනර් මහත්මිය ගේ සහ ඤාණමෝලි හිමිපාණන් ගේ විවේචන පිරික්සා බැලීමෙන්, මේ අටුවා විවරණ මොනවා ද, ඒවා කිනම් හේතූන් මත පිළිගැනීමට අපහසු ද යනු සළකාගත හැකිවේ.

i. '131 සිට 134 දක්වා වූ සූත්‍රවල සූත්‍ර නාමයෙහිම කොටසක් වශයෙන් 'භද්‍රෙකරත්ත' යන පදය යෙදේ. මෙය තරමක ප්‍රහේළිකාවකි. මජ්ඣිම නිකායේ අටුවාව මේ වචනය තේරුම් කරදීමට උත්සාහයක් දරන්නේ මෙසේ ය. 'විපස්සනානුයෝගසමන්නාගතත්තා භද්දකස්ස (පාඨාන්තර - 'භද්දස්ස') 'එකරත්තස්ස' - විපස්සනානුයෝගයෙන් සමන්විත බැවින් යහපත් වූ (?සුභ) එක් රැයක් ඇත්තාගේ.' නොයිමන් මහතා

මෙය 'හුදෙකලා සුවය' යයි හෝරයි. එහෙත් 'එකත්ත' යනු හුදෙකලා බවය. 'එකරත්ත' සාමාන්‍යයෙන් 'එක් රැයක්' යන අරුත දෙන්නකි. එසේ නමුත් භද්දේකරත්ත සූත්‍රවලින් අතීතය, අනාගතය හා වර්තමානය පිළිබඳ සිතිවිලිවලින් එක් රැයක් තරම් වූ කෙටි කාලයකට පමණක් වෙන්ව සිටීම අදහස් කැරෙන බවක් නො පෙනේ. අනෙක් අතට බලන විට, මාතෘකාව වශයෙන් සිටින ගාථාවලින් කියැවෙන්නේ 'භද්දේකරත්ත' යනුවෙන් හඳුන්වනු ලැබීමට සුදුසු නැනැත්තා කෙලෙස් තවන වීර්යයෙන් යුක්තව නොමැලි ව දිව-රෑ එහි යෙදිය යුතු බවය. සැබැවින් ම එය 'එක් රැයකට' වඩා දිගු කාලසීමාවක් විය යුතුමය. සිත අවුල් කරවනසුලු මේ සමාස පදයේ මුල් කොටස පමණක් පරිවර්තනය කිරීම සුදුසු යයි මට හැඟුණි. ඒ නිසා 'භද්ද' යන්න 'සුභ' අරුත දෙන පදයකින් ඉංග්‍රීසියට නැඟුවෙමි. එහෙත් ඒ සඵලත්වයට පෙර නිමිත්තක් යන අර්ථයෙන් නො ව, 'සමෘද්ධිමත්', 'සමෘද්ධවන' යන අර්ථයෙනි. මක් නිසාද යත්, ශාන්ත තත්වයට පත්වන මුනිවරයා සමෘද්ධිමත් වූයේ අතීතය ලුහුබැඳ නොයාමෙනුත්, අනාගතය මෙසේ වේවායි නොපැතීමෙනුත්, වර්තමානව එළඹ සිටිදේ කෙරෙහි නිවැරදි ආකල්පයක් පුරුදු කිරීමෙනුත් නිසයි. එතුමන් ඒ තත්ත්වයට පත් වූයේ අමුතු භාග්‍යයකින්වත්, ඉබේට ලැබුණු හොඳ වරයකින්වත්, වාසනා මහිමයකින්වත් නො ව තමන්ගේ ම සාර්ථකවත් උත්සාහය ද, දෘඪ අධිෂ්ඨාන ශක්තිය ද, අනලස් පැවැත්ම ද හේතුකොටගෙනය.

අයි.බී. හෝනර්, මැනි: ඉංග්‍රීසි පරිවර්තනය
(Middle Length Sayings, iii. සංඥාපනය පිටු xxvi-xxvii)

## ii 'එක් වාසනාවන්ත ඇල්මක් ඇත්තා'

(සංඥාපනය) 'භද්දෙකරත්ත' යන සූත්‍ර නාමය ඇති, එක ම ගාථාව මුල්කරගත් අනුපිළිවෙළින් පිහිටි සූත්‍ර දේශනා සතරක් මජ්ඣිම නිකායේ ඇත.

ඇතැම් තන්හි මේ පදය 'නියම මුනිවරයා' වැනි යම්කිසි පදයකින් පරිවර්තනය කර ඇති නමුදු එවැනි යෙදුම් ප්‍රස්තුතයට අදාළ නො වේ.

අටුවාව කියන්නේ මෙ පමණකි: 'තසථ හදෙදක රතනසොති විපසසනානුයොගසමපනනතගතතා සඅකසස එකරතතසස' "හද්දේකරත්තස්ස යනු: එක් (එක) ඇල්මක් (රත්ත හෝ රත්ති) ඇති බැවින් වාසනාවන්ත වූ (හද්ද): මේ ඔහු විපස්සනානුයෝගයෙන් සමන්විත නිසාය." ටීකාව 'එකරත්ත' (එක-ඇල්ම) යන සමාස පදය 'එකාරත්ති' යනුවෙන් විග්‍රහ කොට 'හද්දේකරත්ත' යන්නෙහි තේරුම 'වාසනාවන්ත එක් ඇල්මක් ඇත්තා' (හද්දා එකරත්තො එතස්ස) යයි ද, එය විපස්සනාව වඩන තැනැත්තකු හඳුන්වන යෙදුමකැයි ද කියයි.

සුත්ත නිපාතයේ 968 වන ගාථාවට අර්ථ කීමේ දී 'මහා නිද්දේසය මේ සූත්‍ර ගැන සඳහන් කරතත් ඒවා තේරුම් ගැනීමට කිසිදු එළියක් නො දෙයි. පෙළෙහි හෝ අටුවාවල හෝ මේ පදය පිළිබඳව වෙන කිසිම සඳහනක් නැති සේය.

පාළි 'රත්ත' (විශේෂණය) හෝ 'රත්ති' (නාමපදය) මෙහි දී 'රජ්' ධාතුවෙන් නිපන්නෙකි. (රඤ්ජති, රජ්ජති: "ඇලුම් කරයි" නිද: "එතථ මෙ රඤ්ජති මනො: මෙහි මගේ සිත ඇලෙයි." (සු.නි.ගා. 426 බු.ජ.ත්‍රි.) එබැවින් 'හද්දේකරත්ත' යනු එළැඹුණු දේ ඒ ඒ තැනදී ම දැන විභාග කිරීමෙහි අපරාජිත ව නොසසල ව නිරත වූවකු හඟවන පදයක් සේ පෙනේ. (ගාථාව බලන්න). මේ නිරතවීම හෝ ඇල්ම හෝ විමුක්තියට මඟ පෙන්වන බැවින් සුභයෑ: වාසනාවන්තය. පාළි 'රත්ත' යන වචනයෙහි වඩාත් ප්‍රකට අර්ථය 'රැය' ය, (සංස්කෘත : රාත්‍රි). එනමුත්, (අටුවාවවත් ටීකාවවත් මේ ගැන තීරණයක් නො කරයි). අප 'හද්දේකරත්ත' යන පදය 'එක් වාසනාවන්ත රැයක් ඇත්තා' වශයෙන් ගෙන ඒ අනුව අටුවා ඡේදයත් ද තේරුම් කිරීමට තැත් කරතහොත් (ව්‍යාකරණය ඊට ඉඩ දෙතත්) සන්දර්භය තුළින් පදය අර්ථවත්

කරගැනීම අපහසුය. 'භද්දෙකරත්ත' යන්න තත්කාලීන සමාජයේ භාවිත වූ පැවැති ව්‍යවහාරයක් බුදුන් වහන්සේ විසින් උපුටාගනු ලදුව විශේෂ අර්ථයක් ගැන්වූ අවස්ථාවකැයි ඇතැම් විට සිතිය හැකිය. එවැනි අවස්ථා ද නැත්තේ නොවේ. එහෙත් මෙහිලා එසේ කිරීමට හේතුවක්වත් එවැන්නකට සාධකයක්වත් නො පෙනේ. එය භාවනාවේ එක්තරා අංගයක් හැඳින්වීමට බුදුරජාණන් වහන්සේ විසින්ම තනාගන්නා ලද පදයකැයි සිතීම වඩා සහේතුකය. මෙවැනිම වූ වෙනත් පද නම්, 'උක්ඛිත්ත පලිඝ' (බාධකය ඔසවා ඉවත ලූ තැනැත්තා ම.නි.සු. 22) 'දිට්ඨිප්පත්ත' ('දෘෂ්ටියට පැමිණි තැනැත්තා' - ම.නි.සු. 70) ආදිය යි.

පූජ්‍ය ඤාණමොළි මාහිමි:
(මජ්ඣිම නිකාය - ඉංග්‍රීසි පරිවර්තනය)

iii. 'මජ්ඣිම නිකායේ අනුපිළිවෙළින් දක්නට ලැබෙන සූත්‍ර සතරකම නාමය වන 'භද්දෙකරත්ත' යන්නෙහි අර්ථය පැහැදිලි නැත. නෙත්තිප්පකරණ අටුවාව (203 හේ.මු.) මෙසේ කියයි: 'එවං පටිපන්නත්තා භද්දො එකරත්තො අස්සාති භද්දෙකරත්තො' (ප.සූ. 4-156.) මජ්ඣිම නිකාය ටීකාව ඊට මෙයත් එකතු කරයි. 'එකා රත්ති එකරත්තො. භද්දො එකරත්තො එතස්සාති භද්දෙකරත්තං විපස්සනං පරිබ්‍රෑහෙන්තො පුග්ගලො: එතෙනාහ: විපස්සනානුයොග සමන්නාගතත්තා" (ප.සූ. 4-456) තං උද්දිස්ස පවත්තියා පන භද්දෙකරත්ත සහචරණතො භද්දෙකරත්තො: තෙනාහ භගවා, "භද්දෙකරත්තස්ස වො භික්ඛවෙ උද්දෙසඤ්ච විභඞ්ගඤ්ච දෙසිස්සාමි (ම.නි. 3-398) ඉති." (ම.නි. ටීකා 368 බුරුම සංස්කරණය). නෙත්තිටීකාව කිසිත් නොකියයි. මේ සූත්‍ර සතර නැවැත සඳහන් වන එක ම තැන මහා නිද්දේසයේ 688 පිටුව ය. එනම්: 'ජාගරියානුයොග පරියන්තො' යන්න විස්තර කිරීමට 'භද්දෙකරත්ත විහාරං' යනුවෙන් යෙදී ඇති තැන ය. නිද්දෙස අටුවාව කිසි ම පැහැදිලි කිරීමක් නොකරයි. මේ හැම විවරණයකම මෙහි ඇති 'රත්ත' යන කොටස 'රත්ති' සූචක මූලයක් ලෙස ගෙන ඇත. (සංස්කෘත: රාත්‍රී' -රැය) එවිට වාච්‍යාර්ථය වන්නේ 'වාසනාවන්ත එක (එනම්: 'මුළු') රැයක්

ඇත්තා' යන්න ය. (එනම්: රැයක් විපස්සනානුයෝගීව මුළුමනින්ම ගතකිරීම ය). මජ්ඣිම නිකාය බුරුම සංස්කරණය භද්දේකරත්ත' යන්නට, ඊට දෙපදයකට උඩින් සඳහන් වන 'අහොරත්තං' යන වචනයේ අර්ථයම දෙයි. (දිවා-රෑ). එහෙත් මේ අර්ථකථන සියල්ලම ව්‍යාකරණය ගැන මිස අර්ථය ගැන තැකීමක් නො කරයි. 'භද්දේකරත්ත' යන්න හින්දූන්ගේ 'ශිවරාත්‍රී' හඳුන්වන බැවහර පදයකැයි ද, එය බුදුන් වහන්සේ විසින් සිතා මතා නව්‍යාර්ථ ගන්වන ලද බැවහර පද සමූහය අතුරින් එකකැයි ද යන විචාර මතයෙක්ද වේ. (හින්දු ශිව රාත්‍රිය බ්‍රාහ්මණයන් විසින් භාවනානුයෝගීව ගතකරනු ලබන අමාවක් රැය ය). එහෙත් මේ විචාරක මතය සිතළුවක් පමණි. (සුත්ත නිපාතයේ - ගා. 19 - 'එකරත්තිවාසො' යන්න මෙය හා සම්බන්ධ කළ හැකි බවක් නො පෙනේ. එය එහි ම 18 වැනි ගාථාවේ 'සමානවාසො' යන්නෙහි විරුද්ධාර්ථ වාචී පදය පමණි). අතුරු නිරුක්තියක් විය හැක්කේ 'රත්ත්', 'රත්තො' හෝ 'රත්ති' හෝ වෙනුවට 'රඤ්ජ්' ('ආශාකිරීම', 'ඇලුම් කිරීම') ධාතුවෙන් නිපන්නක් ලෙස ගැනීම ය. (සසඳන්න: ධම්මරාග - අං. නි, 5-490 'තථාගත රඤ්ජිත' - නෙත්ති. 22. බු.ජ.ත්‍රි., සසඳන්න: සංස්කෘත, 'රත්ති'). එසේ වුවත් මේ විවරණය අර්ථ ව්‍යක්තියට වඩාත් උපකාරී වන බැවින් මේ පරිවර්තනයේදී එය යොදාගෙන ඇත. (එනම්: විපස්සනාරතිය) එය 'වි-රතියට' මඟ පාදයි. එහෙත් මේ විවරණ මාර්ග දෙකින් එකක්වත් ආරක්ෂා සහිත නො වේ. එහෙයින් අර්ථය නිගමනය නො වී පවතී'.

පූජ්‍ය ඤාණමොලි මාහිමි - නෙත්තිප්පකරණ
ඉංග්‍රීසි පරිවර්තනය (The Guide, p.p, 196 - 99 fw 821/3)

සුදුසු විසඳුමක්:

හුදෙකලා ව වැඩවිසූ, හුදෙකලා වාසයෙහි අගය අන් අයට ද වර්ණනා කළ භික්ෂුවක් පිළිබඳ ව සංයුක්තසඟියෙහි ථෙරනාම සූත්‍රයේ සඳහන් වේ. (සං. නි. 2-434) 'ථෙරනාම' යන සූත්‍ර

නාමයෙන් හැඳින්වූයේ උන්වහන්සේගේ සබ්‍රහ්මචාරීන් වහන්සේලා විසින් උන්වහන්සේ 'ථෙර' යනුවෙන් ම හඳුන්වන ලද බවයි. එසේ වූයේ නිර්නාමිකව විසීමට උන් වහන්සේ දැක්වූ රුචියට ගරු කිරීමක් වශයෙන් ද, නැතහොත් වඩාත් සහාසිලි වූ ඇතැම් සබ්‍රම්සරුන් වහන්සේලාගේ යම්කිසි උපහාසාත්මක ඉඟියක් නිසා දැයි අපි නො දනිමු. කෙසේ හෝ වේවා, සූත්‍රයෙහි එන පහත සඳහන් වැකි කීපය තුළින් උන්වහන්සේගේ චරිතාංග කීපයක් නිරූපණය වෙතැයි හැඟේ.

"තෙන ඛො පන සමයෙන අඤ්ඤතරො භික්ඛුථෙර නාමකො එකවිහාරී චෙව හොති එකවිහාරස්ස ච වණ්ණවාදී, සො එකො ගාමං පිණ්ඩාය පවිසති, එකො පටික්කමති, එකො රහො නිසීදති, එකො චඞ්කමං අධිට්ඨාති.' (එම 434)

'එකල තෙර නමැති එක්තරා භික්ෂුවක් හුදෙකලාව වාසය කරන්නේ ද හුදකලා වාසයෙහි ගුණ කියන්නේද වෙයි. හෙතෙම හුදෙකලා ව ගමට පිඬු පිණිස පිවිසෙයි. හුදෙකලා ව ආපසු එයි. හුදෙකලාව හිඳියි. හුදෙකලාව සක්මන් කරයි.'

උන්වහන්සේ ගේ මේ හැසිරීම අමුතු යයි සිතූ නිසා දෝ සබ්‍රම්සරුන් වහන්සේලා කීප නමක් බුදුන් වහන්සේට මේ බව සැළ කළහ. බුදුන් වහන්සේ ද උන් වහන්සේ කැඳවා විමසුයෙන් උන්වහන්සේ හුදෙකලා වාසයට තමන් තුළ ඇති අභිරුචිය හෙළි කළහ. එය කෙබඳු හුදෙකලා වාසයක් දැයි අසන ලදුව තම දින චරියාව ද මෙසේ විස්තර කළහ:

'ස්වාමීනි, මෙහි මම හුදෙකලාව ගමට පිඬු පිණිස පිවිසෙමි. හුදෙකලාව ආපසු එමි. හුදෙකලාව හිඳිමි. හුදෙකලාව සක්මන් කරමි. ස්වාමීනි, මා හුදෙකලාව වෙසෙන්නේත්, හුදෙකලා වාසයෙහි ගුණ කියන්නෙක් වන්නේත් මෙසේය."

බුදුන් වහන්සේ මෙහිදී වදාළ වචනවලින් ගර්හාවක් හෝ ඒකාන්ත ප්‍රශංසාවක් හෝ ප්‍රකාශ නොවේ. "තෙර, ඔවැනි හුදෙකලා

විසීමෙක්ද ඇත. මම එය නැතැයි නො කියමි. එසේද උවත් තෙර, හුදෙකලා වාසය යම් අයුරකින් විස්තර වශයෙන් පරිපූර්ණ වේද, එය අසව, මැනවින් මෙනෙහි කරව, කියන්නෙමි." අනතුරුව බුදුන් වහන්සේ එය මෙසේ විස්තර කිරීමට වන්හ:

"ඉධ ථෙර යං අතීතං තං පහීනං, යං අනාගතං තං පටිනිස්සට්ඨං: පච්චුප්පන්නෙසු ච අත්තභාවපටිලාභෙසු ඡන්දරාගො සුප්පටිවිනීතො: එවං ඛො ථෙර එකවිහාරො විත්ථාරෙන පරිපුණ්ණො හොති."

"තෙර යමක් අතීත ද, එය ප්‍රහීන කරන ලද්දේ වෙයි: යමක් අනාගත ද, එය අතහරින ලද්දේ වෙයි: වර්තමාන ආත්මභාව ප්‍රතිලාභයන් පිළිබඳව ඡන්දරාගය මැනැවින් හික්මවන ලදුයේ ද වෙයි: මෙසේය තෙර, හුදෙකලා වාසය පරිපූර්ණ වන්නේ."

ඉහත කී සියලු ම අවශ්‍යතා සම්පූර්ණ වී උත්තරීතර හුදෙකලාව මූර්තිමත් කැරෙන්නේ රහතන් වහන්සේ තුළින්ම බව පැහැදිලි කරනු පිණිස බුදුන් වහන්සේ සූත්‍ර දේශනාව මේ ගාථාවෙන් කුළුගන්වා ලූහ.

'සබ්බාභිභුං සබ්බවිදුං සුමෙධං
සබ්බෙසු ධම්මෙසු අනූපලිත්තං
සබ්බං ජහං තණ්හක්ඛයෙ විමුත්තං
තමහං නරං එකවිහාරීති බ්‍රූමි'

සියල්ල ජයගත් සියල්ල දැන ගත්
සියල්ලෙන් මැ නොකිලිටි ඒ නැණ වත්
සියල්ල හැර තණ්හා නැසූ එවි මුත්
නරා යැ එකලා විහරණයෙන් යුත්

'ථෙරනාම' සූත්‍රයේදී පරිපූර්ණ හුදෙකලා වාසයට බුදුන් වහන්සේ දෙන විග්‍රහය, 'භද්දෙකරත්ත' සූත්‍රයේ උද්දෙස ගාථා තුළින් ප්‍රතිරාවයක් නගයි. මුලින් කී සූත්‍රයේදී බුදුන් වහන්සේ

ඒක විහාරය පරිපූර්ණ වන ආකාරය පිළිබඳව ඉදිරිපත් කළ විස්තරය දෙවනු කී සූත්‍රයේ එන පහත සඳහන් ගාථාපද සමග සැසඳිය හැකිය:

'අතීතං නාන්වාගමෙය්‍ය - නප්පටිකඞ්ඛෙ අනාගතං
යදතීතං පහීනං තං - අප්පත්තඤ්ච අනාගතං
පච්චුප්පන්නඤ්ච යො ධම්මං - තත්ථ තත්ථ විපස්සති

'ගිය කල ලුහු බැඳ නොයන්නා
මතු කල නොපතා සිටින්නා
ගිය දේ ගිය සේ මැ ගන්නා
මතුව නොපත් සේ දකින්නා
එළැඹුණ දේ දැන් එන එන
විදසුන් නුවණට දමන්නා'

පොදුජන ව්‍යවහාරය විසින් 'හුදෙකලාව' යන සංකල්පයට දී තිබුණු අර්ථයට වඩා පරිසමාප්ත වූ අර්ථයකින් 'ථෙරනාම' සූත්‍රය හුදෙකලාව (එකවිහාරො) විවරණය කළ අයුරු අපි ඉහතින් දුටිමු. පරිසමාප්ත හුදෙකලාව නිරූපිතව ඇත්තේ සිත පිළිබඳ හුදෙකලාවක් වශයෙනි. එය වනාහි, ගියකලට හා මතුකලට අයත් සියල්ල අතහැර, එළැඹි මොහොතෙහි තම ආත්ම භාවයට ඇති ඡන්ද - රාගය ප්‍රහීණ කිරීමෙන් දිනාගනු ලබන්නකි. 'ථෙරනාම' සූත්‍රයේ අවසාන ගාථාවෙන් පැහැදිලි කැරෙන්නේ නියම 'එක විහාරී' පුද්ගලයා 'සියල්ලෙන්ම නොකිලිටි' 'සියල්ල හැර' විමුක්ත වූවකු බවය. මෙහිදී අපට නිවන හඳුන්වන 'උපධි විවෙක' (සියලු උපධීන්ගෙන් වෙන්වීම) යන පදය මතකයට නැඟේ. සිත පිළිබඳව ඉහළ ම හුදෙකලා බව ('චිත්ත විවේක' 'චිත්ත වූපකාස') මෙය යි. කායික හුදෙකලාව (කාය විවේක, කායවූපකාස) සඳහා දරන සියලු ප්‍රයත්නයන්ගේ නියම පරමාර්ථය විය යුත්තේ මෙය යි. කාය විවේකය පිළිබඳ සම්මත සංකල්පය වනුයේ හුදෙකලාව - එකලාව - ජීවත් වීමයි. කෙලෙස් උමතුවෙන් උමතුවූ ජනසමූහයාගෙන් ඉවත්ව විසීමෙන් ලැබිය

හැකි සැනසුමෙක ශ්‍රේයාවක් ඒ සම්මත සංකල්පය තුළින් මුනිවරයා දකියි. මේ කාය විවේකය විරාගය සඳහා අත්‍යවශ්‍ය පූර්ව කෘත්‍යයක් ලෙස බුදුන් වහන්සේ පිළිගත් බවට සැකයෙක් නැත. මෙවැනි හුදෙකලාවෙක අගය ඉහළින් ම වර්ණනා කළ එක් අවස්ථාවෙක උන් වහන්සේ උපස්ථායක නාගිත හිමියන් අමතා අවසාන වශයෙන් ප්‍රකාශ කළේ, හුදෙකලාව ගමන් ගත වූ විටෙක, ඉදිරියෙන් හෝ පසුපසින් කිසිවකු දක්නට නොලැබෙන විට යටත් පිරිසෙයින් ශරීර කෘත්‍යය කිරීමට පවා තමන් වහන්සේට පහසුවන බවය. (යස්මා'හං නාගිත සමයෙ අද්ධානමග්ග පටිපන්නො න කඤ්චි පස්සාමි පුරතො වා පච්ඡතො වා, ඵාසු මෙ නාගිත තස්මිං සමයෙ හොති අන්තමසො උච්චාරපස්සාවකම්මායා'ති - අං. නි. ඡක්ක නිපාත). එසේ ම ථෙරගාථා පාළියෙහි එන 'එකවිහාරීය' තෙරුන් වහන්සේගේ වචනවලින්ද හුදෙකලා සුවය පිළිබඳව මෙයට සමාන ප්‍රකාශයක් කැරෙයි.

> 'පුරතො පච්ඡතො වා'පි - අපරෝ චෙ න විජ්ජති
> අතීව ඵාසු භවති - එකස්ස වසතො වනෙ'
>
> ථෙර, ගා: 537

'ඉදිරියෙන් හෝ පසු පසින් හෝ අනෙකකු දක්නට නොමැති නම් වනයේ හුදෙකලාව වෙසෙන්නෙකුට ඉතා පහසුවක් දැනෙයි.'

'ඉදිරිපසින් හෝ පසුපසින් අනෙකකු දක්නට නොලැබීමේ සතුට කායික හුදෙකලාව පිළිබඳ සංකල්පයට අදාල වන්නේ යම් සේ ද,එසේ ම, මතු බලාපොරොත්තු සහිත ඉදිරි බැලුම්ද, යටගියාව දෙසට හෙළන පසු බැලුම්ද නොමැතිවීම මානසික හුදෙකලාවේ අත්‍යවශ්‍ය අංගයෙකි. යටගියාවට අයත් සියල්ල අතහැරියේ ('යං අතීතං තං පහීනං' - ථෙරනාම සූ: 'යදතීතං පහීනං තං'- භද්දෙකරත්ත සූ:) යටගියාව ලුහුබඳින්නේවත්, එහි ජීවත්වන්නේවත් නැත. මතුවට එන දේ හැර දැමූයේ ('යං අනාගතං තං පටිනිස්සට්ඨං' - ථෙර.සූ.) මතුව ගැන සැකමුසු පැතුම් කිසිත්

ඇතිකර නො ගනියි. (නපපටිකඞෙඛ අනාගතං' - භද්දෙක සූ.) අතීතය හා අනාගතය පිළිබඳ මේ සංකල්පය, අවකාශය හා කාලය දෘෂ්ටිකෝණ කරගත් විකෘතන මාර්ග දෙක එකිනෙකට වඩාත් ළං කරවයි. එනම්,කායික හුදෙකලාවේ ඉදිරිපස හා පසුපසත්, මානසික හුදෙකලාවේ යටගියාව හා මතුවත්, එකිනෙකට ළං කරවයි. එනමුත් මේ විකෝෂප දෙකින් මිදීමම උත්තරීතර හුදෙකලාව නම් වූ පරම සුවය නොවේ. තුන්වැනි විකෝෂපකාරී අංගයක්ද ප්‍රහීණ කළ යුතුව ඇත. අරමුණු කළ හුදෙකලාව කායික හෝ වේවා, මානසික හෝ වේවා, එහි ලා ඇලුම් - බැඳුම් නොමැත්තකු විය යුතුය. එබැවින් තමා සතු වස්තු හැටියට සැළකෙන ආමිස හෝ නිරාමිස හෝ දෙයෙහි දැඩි ඇල්මක් ඇතිකරගැනීම තුන්වැනි විකෝෂපයයි. වර්තමාන ආත්මභාව ප්‍රතිලාභයන් පිළිබඳ ව වූ ඡන්ද රාගය හොඳින් මැඩ පවත්වා ගත් තැනැත්තා (පච්චුප්පන්නෙනසු ව අත්තභාව පටිලාභෙසු ඡන්දරාගො සුප්පටිවිනීතො - ථෙර. සූ.) වර්තමාන ව පැන නගින ඒ ඒ ධර්මයන් අනිත්‍ය වශයෙන්, දුඃඛ වශයෙන්, අනාත්ම වශයෙන් විදර්ශනා ඥානයෙන් දකියි. ('පච්චුප්පන්නඤ්ච යො ධම්මං තත්ථ තත්ථ විපස්සති' භද්දෙක සූ.)

'හුදෙකලාව' යන සංකල්පය තුළ ගැබ්ව ඇතැයි පොදු ජනයා සළකන අර්ථාන්තරයන් සියල්ල ඉක්මවා යන උත්තරීතර අර්ථයක් ඉදිරිපත් කිරීමෙහි ලා 'ථෙරනාම' සූත්‍රයත් 'භද්දෙකරත්ත' සූත්‍රයත් මෙසේ එකඟ වේ. මෙයට සමාන්තරව යන සූත්‍ර ප්‍රදේශ පෙළෙහි අනෙක් තැන්වලද නැත්තේ නොවේ. මේ ඉන් කිහිපයකි.

i. යො නාච්චසාරී න පච්චසාරී
සබ්බං අච්චගමා ඉමං පපඤ්චං
සො භික්ඛු ජහාති ඔරපාරං
උරගො ජිණ්ණමිව තචං පුරාණං'

සු.නි, ගා 8 (උරග සූ)

'මතු සැරුම් නැති වූ, පසු හැරුම් නැති වූ
මේ සියලු පපඤ්චය ඉක්මවා ගිය

ඒ මහණ එතෙර හා මෙතෙර අතහරී
උරග තෙම දිරූ හැව හැර දමන සේ"

ii යස්ස පුරෙ ච පච්ඡා ච
මජ්ඣෙ ච නත්ථි කිඤ්චනං
අකිඤ්චනං අනාදානං
තමහං බ්‍රෑමි බ්‍රාහ්මණං'

ධ.ප. (බ්‍රාහ්මණ වග්ග)

'ඉදිරියෙන් - පසුපසින්
මැදින් හෝ කිසිත් නැති
අයත් කිසිවකුත් නැති
කිසිත් ඇදගැනුම් නැති
ඔහුට මම් බමුණුයැයි කියම්

iii. මුඤ්ච පුරෙ මුඤ්ච පච්ඡතො
මජ්ඣෙ මුඤ්ච භවස්ස පාරගූ
සබ්බත්ථ විමුත්තමානසො
න පුන ජාතිජරං උපෙහිසි'

ධ.ප. (තණ්හා වග්ග)

පෙර-පසුව හැරැදමව
මැද ද අතහැරැදමව
භවයෙ එතෙරට මැ යව
හැම තැනින් විමුත් සිත
ඇති වැ යළි උපතකට
දිරුමකට පත් නොවෙව.[1]

---

1. 'පුරෙ', 'පච්ඡා' යන දෙපදයෙහි ගැබ්වන ශ්ලේෂාර්ථ ඇතැම්විටෙක සිත්කාවදින සුළු ගැඹුරකින් යුක්ත විය හැකි බව මේ ගාථාවට දම්පියා අටුවාව ඉදිරිපත් කරන නිදාන කථාවෙන් පෙනේ. බුදුන් වහන්සේ මේ ගාථාවෙන් උග්ගසේන නටපුත්‍රයා අමතා වදාළේ ඔහු අහසේ කරණම් ගසා සැටරියන් උණ ගසක් මත සිටගෙන සිටියදීය. නිරලඹ අහසේ ජීවිතයත් මරණයත් අතර අවදානම් ප්‍රශ්නයකට මුහුණ දෙමින් උණගස මත සමබර ව සිටි ඔහුගේ සමාධිමත් සිත තුළට එකී ගාථාව විනිවිද යන්නට ඇත්තේ ප්‍රබල පූර්වාපර විරෝධයක් වශයෙනි. ඔහු එය අසා සිටිවන ම රහත්වීම පුදුමයක් නොවේ.

'ථෙරනාම' සූත්‍රයත්, 'හද්දෙකරත්ත' සූත්‍රයත් එකිනෙක හා සැසැඳීමේ දී ඒවා එක ම තේමාවක් ගත් සූත්‍ර දෙකක් බව පැහැදිලි වනු ඇත. එසේ වුවත් 'හද්දෙකරත්ත' යන 'සිත අවුල් කරවන සුලු' සමාස පදය නිරාකරණය කරගන්නේ කෙසේද? හුදෙකලාව පිළිබඳ සාකච්ඡාවේදී මෙම සමාසපදයෙහි ඉතා ම වැදගත් වචනය හැටියට අපට පෙනී ගියේ මැදින් ඇති 'එක' යන වචනයයි. 'එක' ('එක' හුදෙකලා', 'තනි') යන වචනයේ වර්ගීය ස්වරූපය නිසා එහි වටිනාකම බොහෝවිට ලුහුඬුකොට තැකූ බව පෙනේ. 'හද්දෙකරත්ත' යන යෙදුමෙන් යම්කිසි ලොප් කළ වචනයක් ද අධ්‍යාහාර වේතැයි සැලකීමට පෙළඹී ඇත්තේ එබැවිනි. ඇතැම් උගත්තු 'එක' යන වචනයේ ධ්වනිතාර්ථය මතු කරදීමේ අදහසින් 'රැය' හෝ 'ඇලීම' යන අරුත් දෙන 'රත්ති' වැනි වචන ඇඳා ගැනීමට තැත් කළහ. එහෙත් 'එක' යන්න පෙළෙහි හුදෙකලා ජීවිතය හුවා දැක්වීමට විශේෂයෙන් යොදාගෙන ඇති සංකේතයක් බව පෙන්වාදිය හැකිය. මුනිවරයන්ගේ විවේකය පිළිබඳ පරමාදර්ශය ඒ තුළින් ගම්‍ය වන බැවින් මුනි ජීවිතය ප්‍රියකළවුන්හට එහි 'දැරුත්' බවක් නො පෙනිණි. 'එක' වචනයේ නීරස 'ඒකාකාර බවක්" ඔවුනට නොදැනුණු සේය. (ඉහත දැක්වූ 'ථෙරනාම' සූත්‍රයේ චරිත සටහන බලන්න) ඛග්ගවිසාණ සූත්‍රයේ මුල සිට අගට (සු.නි.ගා. 35-75) 'එකො චරෙ ඛග්ගවිසාණකප්පො' ('කඟවේණාගේ අඟ මෙන් තනි ව හැසිරෙන්න') යන ධ්‍රැව පදය තුළින් 'එක' යන වචනය නාද - නින්නාද වේ. මුනි සූත්‍රයේ ද මේ වචනය හුදෙකලා ව හැසිරීම සම්බන්ධයෙන් යෙදේ. 'එකං චරන්තං මුනිමප්පමත්තං' (සු.නි.ගා. 213 - එකලා ව හැසිරෙන අප්‍රමාදී වූ මුනිවරයා) එසේ ම, ඒකවිහාරීය ථෙරගාථාවන්හි ද මෙය හයවරක් ම සඳහන් වේ. (ථෙර ගා. 537-546). දෙවැන්නකු නොමැති ව එකලා ව මැ වන මැද විසීම (එකාකියො අදුතියො ගා. 541) උන් වහන්සේගේ අභිලාෂය විය. එය බුදුන් වහන්සේ පසසා වදාළේ මේ ගාථාවෙනි.

'එකාසනං එකසෙය්‍යං - එකො චරමතන්දිතො
එකො දමයමත්තානං - වනන්තෙ රමිතො සියා

ධ.ප.

"එකලා වැ හිඳිමින් - එකලා වැ හොවි මින්
එකලා වැ නොමැළි වැ යෙදෙ මින්
එකලා වැ දමනය කෙරෙ මින්
වන'තේ මැ වසතේ යැ සතො සින් "

'එක' යන වචනයෙහි අර්ථ නිගමනය පිළිබඳ 'ගැටළුව, විසඳාගත් බැවින්' ඒ වචනය ඊට පසුව එන 'රත්ත' යන්න හා සම්බන්ධ වන අයුරු දැන් අපි සාකච්ඡා කරමු. 'අහොරත්ත' යන සමාසපදය හා 'එකරත්ත' යන යෙදුම හා අතර මතුපිටින් පෙනෙන ලේශමාත්‍ර සමානකමක් නිසා 'එකරත්ත' යන යෙදුමට අටුවා සම්ප්‍රදාය විසින් 'එක් රැයක්' යන අර්ථ විවරණය දෙන ලද බව ඤාණමොලි හිමිපාණෝ පෙන්වා දෙති. අයි.බී. හෝනර් මහත්මිය එවැනි අර්ථකථනයකට හේතුසාධක නැතිබව දැක්වීමට සෑහෙන පමණ කරුණු ඉදිරිපත් කර ඇත. අතුරු විවරණයක් වශයෙන් ඤාණමොලි හිමිපාණන් 'රත්ති' යන්න 'රඤ්ජ්' ධාතුවෙන් (ආශා කිරීම, ඇලුම් කිරීම) නිපන්නක් විය හැකි යයි සහේතුක ව මතක් කරදී තිබිණි.[2] උන්වහන්සේ එම උපන්‍යාසයෙන් මතුකරගත හැකි අර්ථ සියල්ල එළිදැක්වීමට පසුබට වූයේ 'එක' යන වචනය පිළිබඳ ගැටළුවකට මුහුණ පෑ නිසා විය හැකිය. දැන් එම වචනයේ විශේෂ අර්ථය පැහැදිලි වී ඇති බැවින් උන්වහන්සේ මතුකර දුන් ඉඟි වඩාත් පුළුල් අන්දමින් අර්ථාන්විත කරගැනීමට තැත් කරමු. 'හුදෙකලාවට ඇති ඇල්ම' (ඉහත සඳහන් ගාථාව බලන්න) ඥානාන්විත ව ව්‍යවහාර කරතොත්, 'කුසල් පක්ෂයට අයත්' ඇල්මක් ලෙස සළකන ලදැයි කිව යුතු වේ. උදාහරණ වශයෙන්, සූත්තනිපාතයේ තාළක

2. පාළියෙහි 'රත්ති' ශබ්දය මේ ධාතුවෙන් නිපන් තැනක් (සසඳන්න : සංස්කෘත : රක්ති) ඇති බවට නිදසුනක් නො පෙනෙතැයි උන්වහන්සේ සඳහන් කරතත්, මහා කච්චාන සහ ලොමසකංගිය භද්දෙකරත්ත සූත්‍රයන්හි දක්නට ලැබෙන භද්දෙකරත්තියො ගාථා' යන යෙදුම ඒ අවශ්‍ය ව ඇති නිදසුන හැටියට සැළකිය හැකිය.
සසඳන්න : 'න විරාගරත්තො' (විරාගයේ නොඇලුණු)
සු.නි.ගා. 799

සූත්‍රයේ එවැනි 'ඇල්මකට' එකහෙළා ම අවසර දුන් තැනක් දැක්විය හැකිය.

> 'එකාසනස්ස සික්ඛෙථ - සමණෝපාසනස්ස ච
> එකත්තං මොනමක්ඛාතං - එකො චෙ අභිරමිස්සසි
> අථ භාහිසි දසදිසා....

සු.නි.ගා. 721

'මහණ ජීවිතයට සරිලන හිඳීම වන එකලා ව හිඳීම පුහුණු කරව. එකත්වය (එනම්, හුදකලා බව) මුනිව්‍රතය යයි කියන ලදී. ඉදින් ඔබ එකලා වැ මැ වෙසෙසින් තුටුවත්නෙහි නම්, ඔබ දස දෙස ම බබුළුවන්නෙහි ය.'

එසේම, සාරිපුත්ත සූත්‍රයේදී (සු.නි.) 'රති' යන වචනය (සතුට, ඇල්ම, කාමය) ඉහත කී සුවිශේෂ අර්ථයෙන් බුදුන් වහන්සේගේ විවේකකාමීත්වය සහ නෙක්ඛම්මාභිරතිය සම්බන්ධයෙන් යොදා ඇත.

'සබ්බං තමං විනොදෙත්වා - එකො'ව රතිමජ්ඣගා'

සු.නි.ගා. 956

මේ සැම සාධකයකින් ම පැහැදිලි වන්නේ 'භද්දෙක රත්තො' යන පදයෙහි ඇති 'එකරත්තො' යන යෙදුම තේරුම් කළ යුත්තේ 'හුදෙකලාවෙහි ඇලුණු තැනැත්තා' යනුවෙන් බවය. වෙනත් වචනවලින් කිවහොත්, 'විවේකකාමී, 'විවේකරත' පුද්ගලයා එයින් අදහස් කැරෙයි. දැන් අපට ඉතිරි ව ඇත්තේ 'භද්‍ර' (සුභ, යහපත්, උතුම්) යන විශේෂණ පදය යි. ථෙරනාම සූත්‍රය විග්‍රහ කිරීමේදී සඳහන් කරන්නට යෙදුණු පරිදි, බුදුන් වහන්සේ අනුදැන වදාළ හුදෙකලාව හුදෙක් කායික හුදෙකලාවට ම සීමා වූ පටු සංකල්පයක් නොවේ. ඉහත කී සූත්‍රයේදී බුදුන් වහන්සේ ඒ තෙරුන් වහන්සේ ගේ දිනචරියාව ගැන පළකළ වචන තුළ ඒකාන්ත පැසැසුමක් හෝ ඒකාන්ත දොස් දැක්මක් හෝ නුවූ බවත්, හුදෙකලා වාසය සකලාංග වශයෙන් පරිපූර්ණ වන

අයුරු පෙන්වාදීමට එය ම අවස්ථාව කරගත් බවත් මතකයට නඟා ගනු වටී. මෙහිලා අපට සැසැඳීම සඳහා ඉදිරිපත් කළ හැකි තවත් සූත්‍රයක් නම්, 'එකවිහාරී' සහ 'සදුතියවිහාරී' යන දෙපදය විග්‍රහ කරමින් බුදුන් වහන්සේ විසින් දේශනා කරන ලද මිගජාල සූත්‍රයයි.

(සං.නි. 4-80, 82, බු.ජ.ත්‍රි)

"මිගජාල, ඉෂ්ට වූ, කාන්ත වූ මනාප වූ, ප්‍රිය ස්වරූපී වූ, කාමයන් හා සම්බන්ධ, ඇලුම් කරවන සුලු ඇසින් දත යුතු රූපයෝ ඇත්තාහ. ඉදින් මහණෙක් ඒවා පිළිබඳව වෙසෙසින් තුටුවේද (අභිනන්දති), වෙසෙසින් කියාපායිද (අභිවදති) දැඩිසේ පැටලී සිටී ද (අජ්ඣෝසාය තිට්ඨති), එසේ වෙසෙසින් තුටුවන, වෙසෙසින් කියාපාන, දැඩිව පැටලී සිටින ඔහුට සතුටක් (නන්දි) උපදී. සතුට ඇති කල්හි ඔහු රාග සහිත වේ. රාග සහිත වූ කල්හි බැඳීමක් ඇති වේ. සතුට නමැති බැඳීමෙන් බැඳුණු මහණ 'දෙවැන්නකු සමග වෙසෙන්නෙකැ' යි (සදුතියවිහාරී) කියනු ලැබේ.

අනෙකුත් ඉන්ද්‍රියාරම්මණයන් පිළිබඳව ද මෙ වැනිම ප්‍රකාශයක් කිරීමෙන් පසුව බුදුන් වහන්සේ එකී දෙසුම කුළුගන්වා ලන්නේ මෙසේය:

"මිගජාල, මෙසේ වෙසෙන මහණ තෙමේ, ඉදින් වනයෙහි ශබ්ද අඩු, ඝෝෂා අඩු, ජනයාගෙන් හිස් වූ, මිනිස් පියසින් ඈත්වූ, භාවනානුයෝගයට සුදුසු වූ,ප්‍රාන්ත සෙනසුන් ඇසුරු කරන්නේ වී නමුදු 'දෙවැන්නකු සමග වෙසෙන්නෙකැ'යි කියනු ලැබේ. ඒ කවර හෙයින්ද යත්: තණ්හාව ඔහුගේ දෙවැන්නාය. එය ඔහු තුළ අප්‍රහීනය. එහෙයින් දෙවැන්නකු සමඟ වෙසෙන්නෙකැයි කියනු ලැබේ."

'හුදෙකලාව වෙසෙන්නා' (එකවිහාරී) ඉන්පසු ව හඳුන්වා දී ඇත්තේ සවැදෑරුම් ඉන්ද්‍රියාරම්මණයන් පිළිබඳව වෙසෙසින්

කුටුවීමක්, කියාපෑමක්, පැටලී සිටීමක් නොමැති බැවින් සතුට නමැති බැම්මෙන් නො බැඳුණා වූ මහණකු හැටියටය. මේ දේශනා කොටස කුළුගන්වමින් බුදුන් වහන්සේ කරන ප්‍රකාශය, නාගිත සූත්‍රාවසානයේදී කරන ලද ප්‍රකාශය තරම් ම වේගවත්ය. ඒ ප්‍රකාශ දෙක අතර බැලූ බැල්මට පෙනෙන පරස්පර විරෝධය හුදෙක් මතුපිටට පමණක් සීමා වූවක් බව එකී එකී සන්දර්භය තුළම තබා ඒවා විමසන්නකුට පැහැදිලි වනු ඇත.

"මිගජාල, මෙසේ වෙසෙන මහණ තෙමේ ඉදින් භික්ෂු - භික්ෂුණී, උපාසක - උපාසිකා, රාජ - රාජ මහාමාත්‍ය, තීර්ථක - තීර්ථක ශ්‍රාවකාදීන් හා ආකීර්ණ ව ග්‍රාමාන්තයෙහි වෙසෙන්නේ වී නමුදු, 'හුදෙකලාව වෙසෙන්නෙකැ'යි (එකවිහාරී) කියනු ලැබේ. ඒ කවර හෙයින් ද යත් : තණ්හාව ඔහුගේ දෙවැන්නා ය. එය ඔහු තුළ ප්‍රහීණ ය. එහෙයින් හුදෙකලාව වෙසෙන්නෙකැ යි කියනු ලැබේ."

'ථෙරනාම', 'මිගජාල' යන සූත්‍ර දෙකින් හුවා දැක්වෙන උත්තරීතර හුදෙකලාවේ පරමාදර්ශය හඬදෙකරතන සූත්‍රයෙහි ද තේමාව වේ. ඒවායේ එන උද්දෙසයත් විභඞ්ගයත් 'භද්දෙකරත්තයා' පිළිබඳවමය. දැන් අපට මේ භද්දේකරත්තයා' 'උත්තරීතර වූ (යහපත් වූ) හුදෙකලාවෙහි ඇලුණු තැනැත්තා' හැටියට හඳුනාගත හැකිය. හුදු කායික හුදෙකලාවත්, නිරාමිසමය හුදෙකලා පරමාදර්ශයත් අතර බුදුන් වහන්සේ දක්වා වදාළ වෙනස, 'භද්‍ද'[3] යන උපපදය යොදා ගැනීමට තරම් සාධාරණ හේතුවක් ලෙස පෙන්වා දියහැකිය. ඇත්ත වශයෙන්ම, උද්දේසයෙහි අවසාන

---

3 සසඳන්න

i. භද්‍රා පුරිසාජානීයො, 'යහපත් ආජානීය පුරුෂයා, අං.නි. 5-440
ii. 'භද්‍ර මුඛො' - සොඳුරු (වාසනාවන්ත) මුහුණක් ඇත්තා' සං.නි. 1-40
iii. 'භද්‍දකො වතා' යං භික්ඛු - මේ මහණ තෙම යහපත් කෙනෙකි,
සං, නි, කස්සප, සං:
iv. සාවක යුගං ...... අග්‍ගං භද්‍දයුගං, දී.නි මහාපදාන සු.

ගාථාවට අනුව මේ උපපදය බුදුන් වහන්සේ විසින් ම එකතු කරන ලද්දක් බව හෙළි වේ.

'එවං විහාරිං ආතාපිං - අහොරත්තං අතන්දිතං
තං වෙ භද්දෙකරත්තොති - සන්තො ආචික්ඛතෙ මුනි'

....දිව රෑ නොමැළි වැ මෙලෙසින
කෙලෙසුන් තවමින් මැ වෙසෙන
මහණ හුදෙකලාවෙ පරම
ඇලුණැයි පවසයි මුනි තෙම,

භද්දෙකරත්ත සූත්‍රයේ වැදගත්කම එහි මාතෘකාවේ ඇති විශේෂත්වයට පමණක් සීමා වූවක් නොවේ. එහි උද්දෙසයත්, විභංගයත් - ඒවායේ සංක්ෂිප්ත භාවය කෙසේ වෙතත් - ධර්මයෙහි විශිෂ්ට වූ ගම්භීරාර්ථසාරය ඉදිරිපත් කිරීමෙහි සමත් බව කිවයුතුය. උදාහරණයක් වශයෙන් කිවහොත්, උද්දෙසයෙහි එන 'අසංහීරං අසංකුප්පං' යන දුරවබෝධ පද යුගලය එයට ම ආවේණික වූ වැදගත්කමකින් යුක්තය. එහෙත් මේ කරුණු පසුව දක්වන විස්තරාත්මක සටහන්වල සාකච්ඡා කැරෙනු ඇත. මක් නිසාද යත්, සූත්‍රයේ ආලෝක ධාරාව තුළින්ම ඒවායේ අර්ථය වඩාත් මැනැවින් උද්දීපනය වන බැවිනි.

# 1 භද්දෙකරත්ත සූත්‍රය

(උත්තරීතර හුදෙකලාවෙහි ඇලුණු තැනැත්තා පිළිබඳ දේශනාව)

මා විසින් මෙසේ අසන ලදී. එක් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර ජේතවන නම් වූ අනේපිඬු සිටුහුගේ ආරාමයෙහි වැඩ වසන සේක. එහිදී භාග්‍යවතුන් වහන්සේ 'මහණෙනි'යි භික්ෂූන් ඇමැතූසේක. 'පින්වතුන් වහන්සැ' යි ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට පිළිවදන් දුන්හ. භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ සේක:

'මහණෙනි, තුඹලාට උත්තරීතර හුදෙකලාවෙහි ඇලුණු තැනැත්තා පිළිබඳ මාතෘකාව ද විස්තර විභාගයද දෙසමි. එය අසව, මැනැවින් මෙනෙහි කරව, කියමි"

"එසේය, වහන්සැ" යි ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට පිළිවදන් දුන්හ. භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළහ:

ගිය කල ලුහුබැඳ නොයන්න
මතු කල නො පතා සිටින්න
ගිය දේ ගිය සේ මැ ගන්න
මතුව නොපත් සේ දකින්න

එළැඹුණ දේ දැන් එන එන
විදසුන් නුවණට දමමින
නොසැලෙන නොකිපෙන විදසුන
නැණැතියෙ වඩනේ මෙලෙසින

කළ යුතු කිස කරව අද ම
මරණය විය හැකි නො හෙට ම
නැහැ නොවැ කළ හැකි ගිවිසුම
මහසෙන් ඇති මරු සහ එම

දිව රෑ නොමැළි වැ මෙලෙසින
කෙලෙසුන් තවමින් මැ වෙසෙන
මහණ භද්‍රෙකලාවෙ පරම
ඇලුණෑ යි පවසයි මුනි තෙම

"කෙසේ ද මහණෙනි, ගිය කල ලුහුබඳින්නේ? අතීතයෙහි මෙබඳු රූපයක් ඇතිව සිටියෙමි යි එහි සතුටක් ඇති කර ගනියි. අතීතයෙහි මෙබඳු වේදනාවක් ඇති ව සිටියෙමියි එහි සතුටක් ඇතිකර ගනියි. අතීතයෙහි මෙබඳු සංඥාවක් ඇතිව සිටියෙමි යි එහි සතුටක් ඇති කර ගනියි. අතීතයෙහි මෙබඳු සංස්කාර ඇතිව සිටියෙමි යි එහි සතුටක් ඇති කර ගනියි. අතීතයෙහි මෙබඳු විඥානයක් ඇතිව සිටියෙමියි එහි සතුටක් ඇතිකර ගනියි. මෙසේය, මහණෙනි, ගිය කල ලුහුබඳින්නේ.

"කෙසේ ද මහණෙනි, ගිය කල ලුහු නොබඳින්නේ? අතීතයෙහි මෙබඳු රූපයක් ඇති ව සිටියෙමියි එහි සතුටක් ඇතිකර නො ගනියි. අතීතයෙහි මෙබඳු වේදනාවක් ඇති ව සිටියෙමියි එහි සතුටක් ඇති කර නො ගනියි. අතීතයෙහි මෙබඳු සංඥාවක් ඇතිව සිටියෙමියි එහි සතුටක් ඇති කර නො ගනියි. අතීතයෙහි මෙබඳු සංස්කාර ඇති ව සිටියෙමියි එහි සතුටක් ඇති කර නොගනියි. අතීතයෙහි මෙබඳු විඥානයක් ඇතිව සිටියෙමියි එහි සතුටක් ඇති කර නොගනියි. මෙසේය, මහණෙනි, ගියකල ලුහුනොබඳින්නේ.

"කෙසේ ද, මහණෙනි, මතුකල පතන්නේ? අනාගත කාලයෙහි මෙබඳු රූපයක් ඇත්තෙක් වෙම්වයි එහි සතුටක් ඇති කර ගනියි. අනාගත කාලයෙහි මෙබඳු වේදනාවක් ඇත්තෙක් වෙම්වයි එහි සතුටක් ඇතිකර ගනියි. අනාගත කාලයෙහි මෙබඳු සංඥාවක් ඇත්තෙක් වෙම්වයි එහි සතුටක් ඇතිකර ගනියි. අනාගත කාලයෙහි මෙබඳු සංස්කාර ඇත්තෙක් වෙම්වයි එහි සතුටක් ඇති කර ගනියි. අනාගත කාලයෙහි මෙබඳු විඥානයක් ඇත්තෙක් වෙම්වයි එහි සතුටක් ඇතිකර ගනියි. මෙසේය, මහණෙනි, මතුකල පතන්නේ.

"කෙසේ ද, මහණෙනි, මතුකල නොපතන්නේ? අනාගත කාලයෙහි මෙබඳු රූපයක් ඇත්තෙක් වෙම්වයි එහි සතුටක් ඇති කර නොගනියි. අනාගත කාලයෙහි මෙබඳු වේදනාවක් ඇත්තෙක් වෙම්වයි එහි සතුටක් ඇති කර නො ගනියි. අනාගත කාලයෙහි මෙබඳු සංඥාවක් ඇත්තෙක් වෙම්වයි එහි සතුටක් ඇති කර නො ගනියි. අනාගත කාලයෙහි මෙබඳු සංස්කාර ඇත්තෙක් වෙම්වයි එහි සතුටක් ඇති කර නොගනියි. අනාගත කාලයෙහි මෙබඳු විඥානයක් ඇත්තෙක් වෙම්වයි එහි සතුටක් ඇති කර නො ගනියි. මෙසේය, මහණෙනි, මතුකල නොපතන්නේ.

"කෙසේ ද, මහණෙනි, එළැඹුණු දේ වෙතට අදිනු ලබන්නේ? මහණෙනි, මෙහි අශ්‍රැතවත් පෘථග්ජන තෙමේ ආර්යයන් නොදක්නේ, ආර්යධර්මයෙහි අදක්‍ෂ වූයේ, ආර්ය ධර්මයෙහි අවිනීත වූයේ, සත්පුරුෂයන් නොදක්නේ, සත්පුරුෂ ධර්මයෙහි අදක්‍ෂ වූයේ, සත්පුරුෂ ධර්මයෙහි අවිනීත වූයේ රූපය ආත්මයක් ලෙසින් දකියි, රූපය ඇත්තක් ලෙසින් හෝ ආත්මයක් දකියි, ආත්මයක රූපය ඇති ලෙසින් හෝ දකියි. රූපය තුළ ආත්මයක් ඇති ලෙසින් හෝ දකියි. වේදනාව ආත්මයක් ලෙසින් දකියි. වේදනාව ඇත්තක් ලෙසින් හෝ ආත්මයක් දකියි. ආත්මයක වේදනාව ඇති ලෙසින් හෝ දකියි. වේදනාව තුළ ආත්මයක් ඇති ලෙසින් හෝ දකියි. සංඥාව ආත්මයක් ලෙසින් දකියි. සංඥාව ඇත්තක් ලෙසින් හෝ ආත්මයක් දකියි. ආත්මයක සංඥාව ඇති ලෙසින් හෝ දකියි. සංඥාව තුළ ආත්මයක් ඇති ලෙසින් හෝ දකියි. සංස්කාර ආත්මයක් ලෙසින් දකියි, සංස්කාර ඇත්තක් ලෙසින් හෝ ආත්මයක් දකියි, ආත්මයක සංස්කාර ඇති ලෙසින් හෝ දකියි. සංස්කාර තුළ ආත්මයක් ඇති ලෙසින් හෝ දකියි. විඥානය ආත්මයක් ලෙසින් දකියි, විඥානය ඇත්තක් ලෙසින් හෝ ආත්මයක් දකියි, ආතමයක විඥානය ඇති ලෙසින් හෝ දකියි, විඥානය තුළ ආත්මයක් ඇති ලෙසින් හෝ දකියි, මෙසේය, මහණෙනි, එළැඹුණු දේ වෙතට අදිනු ලබන්නේ.

"කෙසේද, මහණෙනි, එළැඹුණු දේ වෙතට නො අදිනු ලබන්නේ? මහණෙනි මෙහි ශ්‍රැතවත් ආර්යශ්‍රාවකයා ආර්යයන් දක්නාසුලු වූයේ, අර්යධර්මයෙහි දක්‍ෂ වූයේ, ආර්යධර්මයෙහි සුවිනීත වූයේ, සත්පුරුෂයන් දක්නාසුලු වූයේ, සත්පුරුෂ ධර්මයෙහි දක්‍ෂ වූයේ, සත් පුරුෂ ධර්මයෙහි සුවිනීත වූයේ, රූපය ආත්මයක් ලෙසින් නො දකියි. රූපය ඇත්තක් ලෙසින් හෝ ආත්මයක් නො දකියි. ආත්මයක රූපය ඇති ලෙසින් හෝ නො දකියි. රූපය තුළ ආත්මයක් ඇති ලෙසින් හෝ නො දකියි. වේදනාව ....... සංඥාව ...... සංස්කාර ........ විඥානය ආත්මයක් ලෙසින් නො දකියි. ආත්මයක විඥානය ඇති ලෙසින් හෝ නො දකියි, විඥානය තුළ ආත්මයක් ඇති ලෙසින් හෝ නොදකියි, මෙසේය, මහණෙනි, එළැඹුණු දේ වෙතට නො අදිනු ලබන්නේ.

"ගියකල ලුහුබැඳ නොයන්න - මතුකල නොපතා සිටින්න
ගිය දේ ගිය සේ මැ ගන්න - මතුව නොපත් සේ දකින්න"

මහණ හුදකලාවෙ පරම - ඇලුනැයි පවසයි මුනිතෙම"

"මහණෙනි. තුඹලාට උත්තරීතර හුදෙකලාවෙහි ඇලුණු තැනැත්තා පිළිබඳ මාතෘකාව ද විස්තර විභාගය ද දෙසමියි යමක් කියන ලද ද. මෙය ඒ සඳහා කියන ලදී.

භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක. සතුටු සිත් ඇති ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේගේ භාෂිතය සතුටින් පිළිගත්හ.

# 2 මහාකච්චාන භද්දේකරත්ත සූත්‍රයෙන් උධෘත කොටසක්

(මහා කච්චාන ස්වාමීන් වහන්සේ විසින් 'උද්දේසයට' දෙන ලද 'විභංගයකි')

'..........ඇවැත්නි, භාග්‍යවතුන් වහන්සේ යම් උද්දේසයක් සැකෙවින් උදෙසා විස්තර වශයෙන් අර්ථය විභාග නො කොට හුනස්නෙන් නැඟී විහාරයට පිවිසි සේක් ද:

"ගිය කල ලුහුබැඳ නොයන්න - මතුකල නොපතා සිටින්න

..........................................................................................

මහණ හුදෙකලාවෙ පරම - ඇලුනැයි පවසයි මුනිතෙම"

"ඇවැත්නි, මම භාග්‍යවතුන් වහන්සේ විසින් සැකෙවින් උදෙසන ලද, විස්තර වශයෙන් අර්ථය විභාග නොකරන ලද මේ උද්දේසයෙහි අර්ථය මෙසේ විස්තර වශයෙන් දැනගනිමි.

"කෙසේ ද, ඇවැත්නි, ගියකල (අතීතය) ලුහුබඳින්නේ? අතීත කාලයෙහි මෙසේ මාගේ ඇස විය, මෙසේ රූපයෝ වූහයි එහි විඥානය ඡන්දරාග වශයෙන් බැඳුණේ වෙයි. විඥානයාගේ ඡන්ද රාග වශයෙන් බැඳීම නිසා එහි වෙසෙසින් සතුටුවෙයි. එහි වෙසෙසින් සතුටුවන්නේ ගියකල ලුහුබඳියි. අතීත කාලයෙහි මෙසේ මාගේ කණ විය, මෙසේ ශබ්දයෝ වූහයි........ "මෙසේ මාගේ නාසය විය, මෙසේ ගන්ධයෝ වූහයි... මෙසේ මාගේ දිව විය, මෙසේ රසයෝ වූහයි....... මෙසේ මාගේ කය විය, මෙසේ ස්ප්‍රෂ්ටව්‍යයෝ වූහයි.... මෙසේ මාගේ මනස විය, මෙසේ ධර්මයෝ වූහයි, එහි විඥානය ඡන්දරාග වශයෙන් බැඳුණේ වෙයි. විඥානයාගේ ඡන්දරාග වශයෙන් බැඳීම නිසා එහි වෙසෙසින් සතුටුවෙයි. එහි වෙසෙසින් සතුටුවන්නේ ගියකල ලුහුබඳියි.

"කෙසේ ද, ඇවැත්නි, ගියකල නොලුහුබඳින්නේ? අතීතකාලයෙහි මෙසේ මාගේ ඇස විය, මෙසේ රූපයෝ වූහයි. එහි විඥානය ඡන්දරාග වශයෙන් බැඳුණේ නො වෙයි. විඥානයාගේ ඡන්දරාග වශයෙන් නොබැඳීම නිසා එහි වෙසෙසින් සතුටු නො වෙයි. එහි වෙසෙසින් සතුටු නොවන්නේ ගියකල නොලුහුබඳියි. අතීත කාලයෙහි මෙසේ මාගේ කණ විය. මෙසේ ශබ්දයෝ වූහයි...... නාසය.... ගන්ධයෝ....දිව........රසයෝ........ කය........ ස්ප්‍රෂ්ටව්‍යයෝ....... මෙසේ මාගේ මනස විය, මෙසේ ධර්මයෝ වූහයි, එහි විඥානය ඡන්දරාග වශයෙන් නොබැඳීම නිසා එහි වෙසෙසින් සතුටු නො වෙයි. වෙසෙසින් සතුටු නොවන්නේ ගිය කල නොලුහුබඳියි.

"කෙසේ ද, ඇවැත්නි, මතුකල පතන්නේ? අනාගත කාලයෙහි මෙසේ මාගේ ඇස වන්නේ ය, මෙසේ රූපයෝ වන්නාහයි නොලත් දෙය ලැබීම පිණිස සිත පිහිටුවාලයි: සිත පිහිටුවාලීම නිසා එහි වෙසෙසින් සතුටුවෙයි. එහි වෙසෙසින් සතුටුවන්නේ මතුකල පතයි: අනාගත කාලයෙහි මෙසේ මාගේ කණ වන්නේ ය, මෙසේ ශබ්දයෝ වන්නාහයි ............. නාසය ......... ගන්ධයෝ.......... දිව........ රසයෝ ......... කය ............ ස්ප්‍රෂ්ටව්‍යයෝ............. මෙසේ මාගේ මනස වන්නේ ය, මෙසේ ධර්මයෝ වන්නාහයි නොලත් දෙය ලැබීම පිණිස සිත පිහිටුවාලයි. සිත පිහිටුවාලීම නිසා එහි වෙසෙසින් සතුටු වෙයි. එහි වෙසෙසින් සතුටු වන්නේ මතු කල පතයි. මෙසේ ය, ඇවැත්නි, මතුකල පතන්නේ,

"කෙසේ ද, ඇවැත්නි මතු කල නොපතන්නේ? අනාගත කාලයෙහි මෙසේ මාගේ ඇස වන්නේ ය, මෙසේ රූපයෝ වන්නාහයි නොලත් දෙය ලැබීම පිණිස සිත නො පිහිටුවයි: සිත නොපිහිටුවීම නිසා එහි වෙසෙසින් සතුටු නො වෙයි. එහි වෙසෙසින් සතුටු නො වන්නේ මතුකල නො පතයි. අනාගත කාලයෙහි මෙසේ මාගේ කණ............ ශබ්දයෝ............... නාසය................ගන්ධයෝ............දිව................රසයෝ

..................කය............ස්ප්‍රෂ්ටව්‍යයෝ........... මෙසේ මාගේ මනස වන්නේය, මෙසේ ධර්මයෝ වන්නාහයි නොලත් දෙය ලැබීම පිණිස සිත නො පිහිටුවයි. සිත නොපිහිටුවීම නිසා එහි වෙසෙසින් සතුටු නො වෙයි. එහි වෙසෙසින් සතුටු නොවන්නේ මතුකල නො පතයි. මෙසේ ය, ඇවැත්නි, මතුකල නොපතන්නේ"

"කෙසේ ද ඇවැත්නි, එළැඹුණු දේ වෙතට අදිනු ලබන්නේ? ඇවැත්නි, යම් ඇසක් වේ ද, යම් රූපයෝ වෙත් ද, මෙදෙක ම එළැඹුණු (වර්තමාන) දේය. මේ දෙක එළැඹුණු කල්හි විඥානය ඡන්දරාගයෙන් බැඳුණේ වේ ද, විඥානය ඡන්දරාගයෙන් බැඳුණෙන් එහි වෙසෙසින් සතුටුවෙයි. එහි වෙසෙසින් සතුටුවන්නේ එළැඹුණු දේ වෙතට අදිනු ලබයි. ඇවැත්නි, යම් කනක් හා ශබ්ද ඇද්ද, ............ ඇවැත්නි, යම් නැහැයක් හා ගඳ සුවඳ ඇද්ද .............. ඇවැත්නි, යම් දිවක් හා රස ඇද්ද......... ඇවැත්නි, යම් කයක් හා ස්පර්ශ කළ හැකි දෑ ඇද්ද............. ඇවැත්නි, යම් මනසක් හා ධර්මාරම්මණ ඇද්ද, මේ දෙකම එළැඹුණු දේය. මේ දෙක එළැඹුණු කල්හි විඥානය ඡන්දරාගයෙන් බැඳුණේ වේද, විඥානය ඡන්දරාගයෙන් බැඳුණෙන් එහි වෙසෙසින් සතුටුවෙයි. එහි වෙසෙසින් සතුටු වන්නේ එළැඹුණු දේ වෙතට අදිනු ලබයි. මෙසේ ය, ඇවැත්නි, එළැඹුණු දේ වෙතට අදිනු ලබන්නේ.

"කෙසේ ද ඇවැත්නි, එළැඹුණු දේ වෙතට නො අදිනු ලබන්නේ? ඇවැත්නි, යම් ඇසක් වේ ද, යම් රූපයෝ වෙත් ද, මේ දෙක ම එළැඹුණු දේ ය, මේ දෙක එළැඹුණු කල්හි විඥානය ඡන්දරාගයෙන් නො බැඳුණේ වේ ද, විඥානය ඡන්දරාගයෙන් නොබැඳුණෙන් එහි වෙසෙසින් සතුටු නොවෙයි. එහි වෙසෙසින් සතුටු නොවන්නේ එළැඹුණු දේ වෙතට නො අදිනු ලබයි. ඇවැත්නි, යම් කණක් හා ශබ්ද ඇද්ද.......... අවැත්නි, යම් නැහැයක් හා ගඳ සුවඳ ඇද්ද............ ඇවැත්නි, යම් දිවක් හා රස ඇද්ද,......... ඇවැත්නි, යම් කයක් හා ස්පර්ශකළ හැකි දෑ ඇද්ද.......... ඇවැත්නි, යම් මනසක් හා ධර්මාරම්මණ ඇද්ද, මේ දෙකම එළඹුණු දේ ය, මේ දෙක එළැඹුණු කල්හි විඥානය ඡන්දරාගයෙන් නො බැඳුනෙන්

එහි වෙසෙසින් සතුටු නො වෙයි. එහි වෙසෙසින් සතුටු නොවන්නේ එළැඹුණු දේ වෙතට නො අදිනු ලබයි. මෙසේය, ඇවැත්නි, එළැඹුණු දේ වෙතට නොඅදිනු ලබන්නේ.

"ඇවැත්නි අපගේ භාග්‍යවතුන් වහන්සේ යම් උද්දේශයක් සැකෙවින් උදෙසා විස්තර වශයෙන් අර්ථය විභාග නො කොට විහාරයට පිවිසිසේක් ද:

"ගියකල ලුහුබැඳ නොයන්න...........
මහණ භද්දෙකලාවෙ පරම - ඇලුනැයි පවසයි මුනිතෙම"

"ඇවැත්නි, මම, භාග්‍යවතුන් වහන්සේ විසින් සැකෙවින් උදෙසන ලද, විස්තර වශයෙන් විභාග නොකරන ලද මේ උද්දේසයෙහි අර්ථය මෙසේ විස්තර වශයෙන් දැනගනිමි".[4]

---

4. දොළොස් ආයතන ධර්මයන් ඇසුරින් කැරුණු මේ විස්තර විභාගය අනතුරුව බුදුන් වහන්සේ විසින් ද පැසසුම් සහිත ව සම්මත කරන ලද්දේ එය තමන් වහන්සේ පඤ්චස්කන්ධය ඇසුරින් ඉදිරිපත් කළ විවරණයට පටහැණි නොවන නිසා ය.

# 3. සටහන්

1. අතීතං නාන්වාගමෙය්‍ය : 'අතීතය අතහරින්නැ'යි බුදුන් වහන්සේ නිතර ම දෙන අවවාදයෙහි නියම අදහස මේ පාඨය තුළින් අපට මතු කර ගත හැකි ය. යමකුට බන්ධනයක් වන්නේ යටගියාව සිහිකිරීම් මාත්‍රය ම නො ව, ඒ පිළිබඳ ව ඇති සතුට (නන්දි) සහ ආශා ස්වරූපී ඇල්ම (ඡන්දරාග) බව උද්දේසයෙන් මනා ව පැහැදිලි වේ.[5] අත්හළ යුතුව ඇත්තේ, යටගියාව ලුහුබැඳීමට, පණගැන්වීමට, යළි ගෙවීමට, රස විඳීමට නැඹුරු වනසුලු ආකල්පයයි. සිතිවිලි පිළිබඳ ව පවා නොඇල්මක් අවශ්‍ය වනුයේ ඒ නිසා ය.[6] මානසික වශයෙන් මීනිසා හසුවී ඇති බන්ධනයට වගකිවයුත්තේ ස්මරණයය යනු ඇතැම් දාර්ශනිකයන් තුළ - විශේෂයෙන් ම ක්‍රිෂ්ණමූර්ති[7] තුළ - පවතින මතයෙකි. 'අතීතයට මළ කෙනකු වීමට' දරන ප්‍රයත්නයේදී ඔහු ස්මරණය මුළු ජීවිත නාට්‍යයේ ම 'දුෂ්ට චරිතය' මෙන් සැලකූ බව පෙනේ. සිහියෙහි ආවශ්‍යකත්වය අවධාරණය කරන අතර ම ඔහු මතකය මකා දැමීමට උපදෙස් දෙයි. මෙය බෞද්ධ ආකල්පයට පටහැනි වන්නේ 'සති' යන්න 'එළැඹී සිහිය' මෙන් ම 'ස්මරණය' ('මතකය') හඟවන වචනයක්ද බැවිනි.[8] පෙළෙහි

---

5. '............... න මනො ධම්මානං සංයොජනං, න ධම්මා මනස්ස සංයොජනං, යඤ්ච තත්ථ තදුභයං පටිච්ච උප්පජ්ජති ඡන්ද රාගො තං තත්ථ සංයොජනං' - (සං. නි. 4-322 බු.ජ.ත්‍රි) 'මනස ධම්මාරම්මණයනට සංයෝජනයක් නොවේ. ධම්මාරම්මණ මනසට සංයෝජනයක් නොවේ. එහිලා ඒ දෙක නිසා යම් ඡන්ද රාගයක් උපදී ද, එය එහි සංයෝජනයයි.' සංඥාපනයෙහි මිගජාල සූත්‍රයෙන් උපුටා දැක්වූ කොටස් ද බලන්න.

සසඳන්න:

6 විඤ්ඤාතෙ විඤ්ඤාතමත්තං භවිස්සති' - බාහිය සු. උදාන පාළි: දැනගත් දෙයෙහි දැනගත් බව පමණක්ම වන්නේ ය.'

7. Talks by Krisnamurthy in Europe - 1965 (Authentic Report) p. 95

8. 'සති' - මෙය සාමාන්‍යයෙන් 'සිහිය' යනුවෙන් පරිවර්තනය කෙරෙතත් ඇඳුනු පදයක් මෙන් ඒ සමග යෙදෙන 'සම්පජඤ්ඤ' ('මනා නුවණ') යන්නෙහි අර්ථවිග්‍රහයා ද ඊට අයත් වේ.

'සතින්ද්‍රිය' හඳුන්වා දී ඇත්තේ මෙසේය. 'කතමඤ්ච භික්ඛවෙ සතින්ද්‍රියං? ඉධ භික්ඛවෙ අරියසාවකො සතිමා හොති පරමෙන සතිනෙපක්කෙන සමන්නාගතො චිරකතම්පි, චිරභාසිතම්පි සරිතා අනුස්සරිතා' - (සං. නි. 5-1-354 බු.ජ.ත්‍රි.) : 'මහණෙනි, සතින්ද්‍රිය කවරේද? මෙහි ආර්ය ශ්‍රාවකයා සිහි ඇතියේ, උතුම් බලවත් සිහියෙන් යුතුවූයේ, ඉතා පෙර කරන ලද්ද කියන ලද්ද පවා සිහිකරනුයේ, පුන පුනා සිහිකරනුයේ වෙයි'. 'එළැඹි සිහිය' හා 'මතකය' අතර අවශ්‍යයෙන්ම පවත්නා සම්බන්ධතාව තේරුම් ගත හැක්කකි. එකක නියුණුබව නිතැතින්ම අනෙකෙහි පැහැදිලිබවට මහපාදන හෙයිනි. සංකීර්ණ වූ මනෝමය ක්‍රියාවලිය තුළ ස්මරණයට හිමි තැන නොතකා හැරීමෙන් ඇතැම්විට සිහිය විකෘති වූ තත්ත්වයක් පවා උද්ගත විය හැකිය. එබැවින් ආර්ය ශ්‍රාවකයා එළැඹි සිහිය පුරුදු කිරීමෙහි නියැලුණු පමණින්, තමා කළ - කී - දැ, නොකළ - නොකී බවක් හෝ, අමතක වූ බවක් හෝ, න්‍යාය විරෝධී ලෙස ප්‍රකාශ නො කරයි. එපමණක්ද නොව, තහංචියකින් තොර ව ම ස්මරණ ශක්තිය දියුණු කරගෙන ගොස් තමා පෙර විඳූ කඳපිළිවෙළ, කුඩු මහත් විස්තර සහිතව මතකයට නඟා ගැනීමට පවා ආර්ය ශ්‍රාවකයාට ඉඩ තිබේ. (.....සාකාරං සඋද්දෙසං පුබ්බෙනිවාසං අනුස්සරති - සාමඤ්ඤඵල සූ.දී.නි.). එළැඹි සිහිය පුරුදු කිරීම පිළිබඳ ඔහුගේ අප්‍රමාද ප්‍රතිපදාවෙහි ඉලක්කය නම් මැදුම් සඟියේ විතක්කසණ්ඨාන සූත්‍රයේ අවසාන වාක්‍ය කීපයෙන් ප්‍රකාශ කැරෙන, විතර්ක පර්යාය පථයන්හි වශී භාවයයි. "අයං වුච්චති භික්ඛවෙ භික්ඛු වසී විතක්කපරියායපථෙසු, යං විතක්කං ආකඞ්ඛිස්සති, තං විතක්කං විතක්කෙස්සති යං විතක්කං නාකඞ්ඛිස්සති, න තං විතක්කං විතක්කෙස්සති අච්ඡෙච්ඡි තණ්හං වාවත්තයි සංයොජනං, සම්මා මානාභිසමයා අන්තමකාසි දුක්ඛස්සා' ති" "මහණෙනි, මේ මහණ තෙමේ විතර්ක සැරිසරන මාර්ගයන්හි පුරුදු කරන ලද වශී භාවය ඇත්තේ යයි ද, යම් විතර්කයක් කැමැති වන්නේ නම් ඒ විතර්කය විතර්ක කරන්නේ යයිද යම් විතර්කයක් නොකැමැති වන්නේ නම් ඒ විතර්කය විතර්ක නොකරන්නේ යයිද තෘෂ්ණාව සින්දේ යයිද, සංයෝජන ගලවා දැමූවේ යයි ද, මැනැවින්

මානය තේරුම් ගැනීමෙන් දුක් කෙළවර කළේ යයි ද කියනු ලැබේ." (ම.නි. 1. 306)

'එළැඹි සිහිය' හා 'මතකය' පිළිබඳ මේ ගැටමුසු ප්‍රශ්නයට බුදුන් වහන්සේ ඉදිරිපත් කළ විසඳුමෙහි වඩාත් ඉස්මතු වී පෙනෙන ලක්‍ෂණය වනුයේ විරාගී ආකල්පයෙක අවශ්‍යතාව අවධාරණය කිරීමයි. ඇලීම් ස්වභාවය ඇති සෑම දුරලීම මෙහිලා සම්පූර්ණ කළයුතු අත්‍යවශ්‍ය අංගයයි. ඊට තුඩු දෙන අන්දමින් භික්ෂූන් වහන්සේලාට අනුශාසනා කළ බුදුන් වහන්සේ, බොහෝ විට එවැනි අනුශාසනාවක් කුළුගන්වා වදාළේ මෙසේ යඃ "මහණෙනි සංස්කාරයෝ මෙසෙයින් අනිත්‍යය හ. මහණෙනි, සංස්කාරයෝ මෙසෙයින් අස්ථිරය හ. මහණෙනි, සංස්කාරයෝ මෙසෙයින් ආස්වාද රහිතයහ. කෙතෙක් ද යත් මහණෙනි, සියලු සංස්කාරයන්හි කලකිරීමට මේ ම පමණි."[9] පුහුදුන් මිනිසාට දැකුම්කලු පරිසර හා නොනැසෙන බිම් සලකුණු මවා පාන කඳු, හෙල්, ගංගා තුළින් පවා බුදුන් වහන්සේගේ අනිත්‍යතා තේමාව දිව යෙයි. විශ්ව සාධාරණ වූ අනිත්‍යානුපස්සනාව පදනම් කරගත් ඒකාන්ත නිර්වේදය මේ තරම් අවධාරණය කරන අන්කිසිදු දර්ශනයක් ඉහත කී ප්‍රශ්නය විසඳීමට ඉදිරිපත් වන දර්ශනවාද අතර නොමැත. ක්‍රිෂ්ණමූර්ති පවා කඳුවැටි, ගස්කොළන්, ගංගා, හිරු බැස යාමේ දර්ශන ආදියෙහි මනස්කාන්තබව පමණට වඩා අගයනු පෙනේ.[10]

බෞද්ධ භාවනා ක්‍රමයෙහි දක්නට ලැබෙන තවත් විශේෂ ලක්ෂණයක් නම් ඉන්ද්‍රිය සංවර ක්‍ෂේත්‍රයෙහි 'සතියට' හෝ 'එළැඹි සිහියට' හෝ හිමිතැන පිළිගනිමින්ම, ලොවින් එතෙරවීමේ කාර්යය පඤ්ඤින්ද්‍රියට ම පවරා දීමයි. මේ නිසා බෞද්ධ දර්ශනය 'මතකය මකා' එළැඹි සිහිය පමණක් ඉතිරි කරගැනීමට තැත් කිරීමේ

---

9. දී.නි. මහාසුදස්සන සූ:අං.නි. සත්තසූරියුග්ගමන සූ.
(සත්තක නිපාත).

10. ක්‍රිෂ්ණමූර්ති. යට සඳහන් කෘතිය, 39 වන පිටුව.

විපරීත තත්ත්වයට පත් නො වෙයි. සදොරින් ගලා එන තෘෂ්ණා සැඩ දිය දහර තාවකාලික ව වැළැක්වීමෙහි ලා සතිය උපකාරවත් වන නමුදු සිතෙහි පරම විමුක්තිය ත්‍රිලක්ෂණයෙන් මුවහත් කළ ප්‍රඥේන්ද්‍රියයට ම අයත් කාර්යයෙකි. තෘෂ්ණා සැඩ දිය දහර මුළුමනින් ම වසාලන 'වේල්ල' ප්‍රඥාව යි.

"යානි සොතානි ලොකස්මිං,
සති තෙසං නිවාරණං
සොතානං සංවරං බ්‍රෑමි
පඤ්ඤායෙතෙ පිධීයරේ

සු.නි.ගා. 1039

'අජිතයෙනි, ලොව යම් සැඩ දිය දහරවල් වේද ඒ සැම වළකා ලන්නේ සතිය යි. එය සැඩ දිය දහරවල සංවරය යයි කියමි. ප්‍රඥාවෙන් ඒවා වසාලනු ලැබේ.'

2. 'නප්පටිකඞ්ඛ අනාගතං' : අතීතය පිළිබඳ ව මෙන් ම, අනාගතය පිළිබඳව ද, 'නන්දිය' හා 'ඡන්දරාගය' හේතු කොටගෙන ම සැකමුසු පැතුම් හා උකටලීකම් ඇති වේ. යමක් තමා සතු කරගැනීමට ඇති බලාපොරොත්තුවම මෙහි දී 'නන්දි' නම් වූ සතුටට කරුණු වේ. ඒ සතුටුවීම, අනාගතය පිළිබඳ සැකමුසු පැතුමකි. (2 කොටස බලන්න)

රහතන් වහන්සේගේ එදිනෙදා ජීවිතයේ දී මතුවට ගත යුතු ක්‍රියා මාර්ග පිළිබඳව රුචිය හා කැමැත්ත සරලව ප්‍රකාශ කිරීමට මෙයින් තහනමක් නැත. එවැනි ප්‍රකාශ කිරීම් හා අනියත අනාගතයක් ගැන පෘථග්ජනයා තුළ ඇති දැඩි ආශාවලින් බැඳුණු සැකමුසු පැතුම් හා අතර පවත්නා වෙනස හුදෙක් ආකල්පය අනුව ම තීරණය කළ යුත්තකි. 'තාදී' (එසේ වූ - 'එහෙවු') යන උපපදයෙන් හැඟවෙන පරිදි, රහතන් වහන්සේ 'තථතාව' විනිවිද දැකීමෙන් ලත් උපරිම සුඛනම්‍යතාවකින් හා

සන්හුරු බවකින් යුක්තය හ. උකටලී බව හා ආශාවත්, ඒවායේ විපාක පක්‍ෂයට අයත් කණස්සල්ල හා බලාපොරොත්තු කඩවීමත් උන් වහන්සේහට කැල ම නැත්තේ ය.

අලත්ථං යදිදං සාධු - නාලත්ථං කුසලාමිති
උභයෙනෙව සො තාදී - රුක්ඛංව පටිනිවත්තති
සු.නි.ගා. 715 (නාලක සු.)

'ඉදින් (පිණ්ඩාහාරය) ලදිම් නම් එය මැනැවි. නො ලදිම් නම් එද යහපති. එදෙකින් ම හේ එසේ ම ය. (ඵල සොයා) ගසක් වෙත ගියහු මෙන් ආපසු හැරී එයි.'

3. 'අසංහීර අසංකුප්පං' : විමුක්ත සිතෙහි ස්ථිරසාරබව හා අකම්ප්‍ය බව මේ දෙපදයෙන් පෙන්නුම් කැරෙයි.[11] මේ දෙපදය ම එකට ඇඳූ විට නිවනට පර්යාය පදයක් වේ.[12] එය විශේෂයෙන් ම මනොවිද්‍යාව හා ආචාර විද්‍යාව හදාරන්නවුන්හට වැදගත් විය හැකි ය. පෙළෙහි එන 'නිබ්බාන' පර්යාය පද 33 ට (සං.නි. සළායතනවග්ගයේ අසංඛත සංයුත්තය) මෙය ඇතුළත් නැතත් 'ධුවං' (ස්ථාවරත්වය) යන පදයෙන් එය එහි නියෝජනය කැරෙයි. කෙසේ වුව ද, එහි විශේෂත්වය රඳා පවත්නේ ප්‍රධාන වශයෙන් ම මේ පද යුගලයෙන් සූචනය කැරෙන අර්ථාන්තරයන් මත ය.

---

11. ඨිතං චිත්තං විප්පමුත්තං - අං.නි. iv. 158 බු.ජ.ත්‍රි.
'ස්ථාවරවූ සිත මැනැවින් මිදී ඇත.'
'ඨිතචිත්තස්ස තාදිනො' - දී.නි ii 246 බු.ජ.ත්‍රි.

12. 'අසංහීරං අසංකුප්පං - යස්ස නත්ථි උපමා ක්වචි - සු.නි.ගා. 1154 බු.ජ.ත්‍රි.
යමකට උපමාකළ හැක්කක් කොතැනක වත් නොමැත්තේද ඒ නොසෙල්වෙන - නොසිපෙන බව....'
'අසංහීරං අසංකුප්පං - චිත්තං ආමොදයාමහං' - ථෙ.ගා. 649 බු.ජ.ත්‍රි.
'නොසෙල්වෙන නොසිපෙන සිතක් ගැන මම සතුටු වෙමි."

"අසංහීරං" (සං+හෘ ධාතුයෙන් නිපන් කෘදන්ත පදයෙකි) යන්න 'ධීතො'[13] (ස්ථිර) 'ඡෙකො'[14] (දක්ෂ) යන නියතාර්ථවත් පදවලින් හඟවන ස්ථිරසාරබව පිළිබඳ අර්ථය උද්දීපනය කිරීමට පෙළෙහි බොහෝ විට යෙදී ඇති පදයෙකි. 'නො සෙල්විය හැකිබව' 'ඉවත් නොකළ හැකිබව', 'ස්වමතය තහවුරු කිරීමෙහි හැකියාව'[15] මේ පදය හා සම්බන්ධ අර්ථව්‍යාඛ්‍යා කිහිපයෙකි. එබැවින් සූත්‍රයේ ගද්‍යකොටස් තුළ එන 'සංහීරති' (කර්මකාරක) යන්නෙන් හඟවනුයේ ආකර්ෂණය කරගැනීමට, වසඟයට ගැනීමට, ඇදගැනීමට, ඇති ප්‍රවණතාවයි. ප්‍රස්තුත සූත්‍රයේ සන්දර්භයට අනුව, විසි ආකාර සක්කාය දිට්ඨිය ප්‍රත්‍යුත්පන්න ධර්මයන්ගේ වසඟයට ඇදී එන විධි විශේෂයක් වශයෙන් විවරණය වී ඇති බව පෙනේ. මෙයට ප්‍රතිවිරුද්ධ ව, 'අසංහීරං' යන පදය නිවන පිළිබඳ ව යොදා ඇත්තේ එම උත්තරීතර චෙතොවිමුක්තිය ඇලුම් - බැඳුම්වලින් සම්පූර්ණයෙන් ම තොරවූවක් බව අවධාරණය කිරීමට විය යුතු ය.

'අසංකුප්පං' යන්නෙන් ගම්‍යවන මූලික අර්ථය ද ස්ථාවරත්වය ම ය. 'කුප්ප' යනු 'සැලෙන සුළු', 'වැනෙන සුළු', 'කිපෙන සුළු', 'ඇවිස්සෙන සුළු', වැනි අර්ථ ගෙනදෙන බැවිනි. බොහෝ විට 'කුප්පති' යන පදය හැඟීම් හා සම්බන්ධයක් නොමැති අරුතකින්

---

13. සසඳන්න
විනයෙ ඛො පන ධීතො හොති අසංහීරො' - අං.නි.iv. 486 බු.ජ.ත්‍රි. 'විනය පිළිබඳව ඔහුගේ ස්ථාවරය නොසෙල්විය හැක්කේ ය.'
බලන්න : සං. නි. 1.346 බු.ත්‍රි. ථෙරගා. 1255: ඉති. තික නිපාත (පුබ්බනිමිත්ත සු.)

14. සසඳන්න:
'විනයෙ ඛො පන ඡෙකො හොති, අසංහීරො' - වු.ව. 402 බු.ජ.ත්‍රි.
'විනයෙහි වනාහි හෙතෙම දක්ෂයෙකි: නො සෙල්විය හැක්කෙකි'.

15. සසඳන්න:
'අසංහීරොසි න සක්කා ගහිතගහණං විස්සජ්ජාපෙතුං' - මනො. ii. 735 හේ.මු.
'අසංහීරො': 'ඔහු ගත් මතයක් අතහැරවීමට නොහැකිය යනුයි.

අප්‍රාණික වස්තූන් සම්බන්ධයෙන් යෙදී ඇත. එවැනි තැන්හි දී එය හුදෙක් 'චලනය', 'කම්පනය' වැනි අර්ථ ගෙන දේ.[16] එසේ ද වුවත්, මානසික තත්ත්ව ගැන විස්තර කැරෙන සන්දර්භයන්හි දී - විශේෂයෙන් ම 'සං' යන උපසර්ග පදය ගත් විට - එය බෙහෙවින් ම ළං වනුයේ 'තොරීස්සුම් ගතිය' හෙවත් 'කෝපය' පිළිබඳ හැඟීම්වලට ය. මෙහි දී ද ඒ අර්ථාන්තරයන්ම ප්‍රකට වන බව පෙනේ. චිත්ත තත්ත්වයක් වශයෙන් තිවනෙහි ඇති ස්ථිරසාර බවට හේතුව ආකර්ෂණයෙන් මෙන්ම අපකර්ෂණයෙන්ද තොරවීමය.

ලෝභ, දොස, මෝහ යන අකුසල් මුල් තුන අතුරින් පළමු දෙකෙන් පෙන්නුම් කැරෙන්නේ 'සංස්කාර' නම්වූ චෛතසික බලවේගයන්ගේ ආකර්ෂණ - අපකර්ෂණ න්‍යායයයි. සංස්කාර පැන නගිනුයේ ද මෝහය හෙවත් අවිද්‍යාව තුළිනි.[17] අවිද්‍යාව ප්‍රකට වන මූලික ස්වරූපය සක්කායදිට්ඨියයි. "මහණෙනි, මෙහි අශ්‍රැතවත් පෘථග්ජන තෙමේ ......රූපය ආත්ම වශයෙන් දක්නේ ය. මහණෙනි, යම් ඒ දැකීමක් (සමනුපස්සනා) වේ ද, එය සංස්කාරයකි". (සං.නි. iii 164 බු.ජ.ත්‍රි.). සාමාන්‍ය ඉන්ද්‍රියඥානය තුළ එය ලැබෙනුයේ 'මෙනෙහි කිරීම' ('මනසිකාර') වශයෙනි. 'ඡන්දය' හෙවත් 'කැමැත්ත' මෙනෙහි කිරීමට තුඩුදෙයි. ඉන්ද්‍රියඥානයට විෂයක්ෂේත්‍රය වන විවිධ අරමුණුවලින් පිරි ලෝකය, 'ඡන්දයෙන්' මුදාහළ 'මනසිකාර' ආලෝක ධාරාවෙහි ප්‍රතිඵලයක් වශයෙන් බිහිවූවකි. "ඇවැත්නි, සියලු ධර්මයෝ ඡන්දය මුල්කොට ඇත්තාහ. සියලු ධර්මයෝ මෙනෙහි කිරීම නිසා හටගන්නාහ. සියලු ධර්මයෝ ස්පර්ශය නිසා පැන නගින්නාහ." (අං. නි. vi 190, බු.ජ.ත්‍රි.) ඡන්දය යම් පමණකට දැඩිවේ ද, මනසිකාරය ද එපමණටම දැඩිවේ. මේ දෙකින්ම යම් කිසි

---

16. ම.නි. මහා හත්ථිපදොපම සු. අං.නි. iii 162 බු.ජ.ත්‍රි. පාරා. 106 බු.ජ.ත්‍රි.
17. අවිජ්ජා පච්චයා සංඛාරා - අවිද්‍යාව ප්‍රත්‍යය කොටගෙන සංස්කාර ඇතිවේ. සං.නි. නිදාන සං.

ප්‍රමාණයක උද්වේගයක් ඉන්ද්‍රිය ඥානමය අවස්ථාව තුළට කාවද්දනු ලැබේ. අවධානයට සාපේක්ෂක වශයෙන් බාධකව සිටින 'වික්ෂේපයන්' තරයේ ම නො තකා හැරීමට මේ උද්වේගය උපකාර වෙයි. ඉන්ද්‍රිය ඥානයට ආවේණික වූ මේ උද්වේගය - බල වේගය- නොසන්සුන්බව - පීඩනය - කරණකොට ගෙන ඉන්ද්‍රියඥානය සමස්තයක් වශයෙන් කෘත්‍රිම, සකස්කළ, 'සංඛත' දෙයක ස්වරූපය ගනී.[18] ඉන්ද්‍රිය ඥානයේ ඉතා ම ප්‍රාථමික අවස්ථාවෙහි පවා අවිද්‍යාව සහ තණ්හාව ගැබ්වී ඇත."....... ඒ සංස්කාරය වනාහි කුමක් නිදානය කොට ගත්තක් ද? කුමකින් පැන නැඟුනක් ද? කුමකින් උපන්නක් ද? කුමකින් හටගත්තක් ද? අවිද්‍යා ස්පර්ශයෙන් උපන් වේදයිතයෙන් ස්පර්ශ කරනු ලැබූ අශ්‍රැතවත් පෘථග්ජනයාට තෘෂ්ණාව උපන්නේ වෙයි. එසී සංස්කාරය ද අනිත්‍යය, සංඛතය. පටිච්ච සමුප්පන්නය. ඒ තණ්හාව ද... ඒ වේදනාව ද.. ඒ ස්පර්ශයද... ඒ අවිද්‍යාවද

---

18. ඉන්ද්‍රිය ඥානය පිළිබඳ මේ ධර්මතාව, අවිද්‍යාවෙන් හටගන්නා සියලුම සංස්කාරයනටද පොදුය. විද්‍යාඥයා ද්‍රව්‍යය පීඩනයක් යටතේ පවතින ශක්ති පුංජයක් වශයෙන් 'දැකීමේදී' හෝ 'තැකීමේ දී' 'සංඛාරා' යන සූක්ෂමාර්ථවත් පදයෙහි ඇතැම් අර්ථච්ඡායාවන් එළි දක්වයි. එසේ වුවත් ඔහුට එතරම් ම පහසුවෙන් ප්‍රත්‍යක්ෂ නොවන කරුණ නම් 'ඡන්දය' හා 'මනසිකාරය' විසින් මෙහෙයනු ලබන ඔහුගේම දැකීම හා තැකීම මේ ශක්ති - පීඩන දෙකටම මූලික හේතුව වන බවයි. ඉන්ද්‍රිය ඥානයේ කවර මට්ටමකදී වුව, විද්‍යාඥයා යම් තැනක රැඳී සිට සිය පර්යේෂණ තුළින් මතයක් ගොඩනගන්නට තැත් කරන්නේද එතැනම ඔහුට නිරීක්ෂණයට භාජනය වන 'දෙය' පැනනගින 'ස්පර්ශ ස්ථානයක්' (ඵස්සො) බවට පත්වෙයි. ඒ අතර, ඔහුගේ ඡන්දය හා මනසිකාරය, නිරීක්ෂණයට භාජනය වන 'දෙය' සැලසුම් කර, එක්රැස් කර, පිඩුකර දෙයි. විමුක්ත පුද්ගලයාගේ මනසෙහි සිදුවන්නාක් මෙන්, ඡන්දයේ නිරවශේෂ ප්‍රහාණයෙන් මනසිකාර ආලෝක ධාරාව 'නිවාදැමීමෙන් ම' ශූන්‍යත්වය පිළිබඳ සත්‍යතාව ප්‍රත්‍යක්ෂ කරගත හැකිවනු ඇත.

'දුද්දසං අනත්තං නාම - නහි සච්චං සුදස්සනං
පටිවිද්ධා තණ්හා ජානතො - පස්සතො නත්ථි කිඤ්චනං'

උදාන: පාටලිගාමීය වග්ග

අනත්ත' නම් වූ නිවන දැකීම දුෂ්කරය. සත්‍යය පහසුවෙන් දැකිය හැක්කක් නොවන බැවිනි. තණ්හාව විනිවිද දුටු දන්නා දක්නා තැනැත්තහුට, කිසිත් නැත' (යන ඥානය වෙයි.)

අනිත්‍යය, පටිච්ච සමුප්පන්නය.' (සං. නි. iii 164 බු.ජ.ත්‍රි) මෙනෙහි කිරීම් මාත්‍රයෙන් ම ඉන්ද්‍රිය ඥානයට කෘත්‍රිම ස්වරූපයක් ගැන්වී විකෘත වේ. එයින් ම යථා තත්ත්වය මුවහ කැරෙයි.

ඉන්ද්‍රිය ඥානය තුළ දී "ලෝභය" හා "ද්වේෂය" යන ආකල්ප දෙකෙන් ප්‍රකට වන්නේ සංස්කාරයන් ම බැවින්, සංස්කාරයන්ට බීජ ක්ෂේත්‍රය වන මෝහය ඒ දෙයාකාර ආකල්පයන් විහිදුවන කෝණයක් බඳු වෙයි. යට කී ආකර්ෂණ - අපකර්ෂණ ආලම්බනය සමතික්‍රමණය කිරීමට නම්, මෝහයත්, එයින්ම පැනනගින සංස්කාරයනුත් ඉවත් කළයුතු වෙයි. අප හමුවේ ඇති 'අසංහීරං' - 'අසංකුප්පං' යන දෙපදයෙන් මේ තුන්වැන්න (මෝහය) ගැන කිසිවක් ඉදුරා නොකියැවෙන නමුදු අප ඉහතින් දැක්වූ පරිදි එය ද මේ දෙපදය තුළින්ම ගම්‍ය වේ. එබැවින් උපපදයක් වශයෙන් ගත් කළ, මේ යෙදුමෙන් හඟවනු ලබන්නේ බුදුරජාණන් වහන්සේ හා රහතන් වහන්සේලා සමවදින ආශ්චර්යාද්භූත සමාධියක් වන 'ආනන්තරික'[19] නමින් හැඳින්වෙන අර්හත්ඵල සමාධියයි. මේ සමාධියෙහි විශේෂ ලක්ෂණ කිහිපයක් පහත දැක්වෙන සූත්‍ර කොටස්වලින් ප්‍රකට වේ.

---

19 'යං බුද්ධසෙට්ඨො පරිවණ්ණයී සුචිං
සමාධිමානන්තරිකඤ්ඤමාහු
සමාධිනා තෙන සමො න විජ්ජති......' සු.නි.ගා. 228 (රතන සු.)

බුද්ධශ්‍රේෂ්ඨයන් වහන්සේ යම් පිරිසිදු සමාධියක් අතිශයින් වර්ණනා කළ සේක්ද, යම් සමාධියක් 'ආනන්තරික' නමින් හඳුන්වත්ද, ඒ සමාධිය හා සමකළ හැකි අනෙකක් නැත..... මේ අද්විතීය සමාධිය පිළිබඳව යෙදෙන 'ආනන්තරික' යන පදයෙන් හඟවන අදහස, ආනන්ද ස්වාමීන් වහන්සේ ප්‍රකාශ කරන පහත සඳහන් සූත්‍ර කොටස තුළින් මතු කරගත හැකිවේ.

ඇවැත්නි, යම් ආකාරයකින් දකිනවිට අතරක් නැතිව ම ආශ්‍රවයන්ගේ ක්ෂයවීම වේ ද (අනන්තරා ආසවානං ඛයො හොති), මේ, දැකීම් අතුරින් අග්‍රවූ දැකීමය. යම් ආකාරයකින් අසන විට අතරක් නැතිවම ආශ්‍රවයන්ගේ ක්ෂයවීම වේද, මෙය ඇසීම් අතුරින් අග්‍රවූ ඇසීමය. යම් ආකාරයකින් සුඛිතවූ විට අතරක් නැතිවම ආශ්‍රවයන්ගේ ක්ෂයවීම වේද, මෙය සැප අතුරින් අග්‍රවූ සැපය. යම් ආකාරයෙක සංඥාවක් ඇතිවිට අතරක් නැතිවම ආශ්‍රවයන්ගේ ක්ෂයවීම වේද මෙය සංඥා අතුරින් අග්‍ර වූ සංඥාවය. යම් ආකාරයක පැවැත්මක් ඇතිවිටෙක අතරක් නැතිව ම ආශ්‍රවයන්ගේ ක්ෂයවීම වේ ද, මෙය භවාග්‍රය ය."

අං.නි. 9-3-326 (භද්දජි සු.)

(අ) 'මහණෙනි. යම් යම් අයුරෙකින් පිරික්සා බලන්නාහුගේ විඤ්ඤාණය බැහැරට වික්ෂිප්ත ව විසිර නො යේ ද, ඇතුළත පිහිටා සිටීමක් ද නො වේ ද, අල්වා නොගැන්ම නිසා තැතිගැන්මක් නො වේද මහණකු විසින් පිරික්සා බැලිය යුත්තේ ඒ ඒ අයුරිනි. මහණෙනි විඤ්ඤාණය බැහැරට වික්ෂිප්ත ව විසිර නොගිය කල්හි ඇතුළත නොපිහිටි කල්හි, අල්වා නොගැන්ම නිසා තැතිගැන්මක් නැති කල්හි, නැවැත ජාති-ජරා-මරණ දුක් හටගැන්මක් නො වේ."

-ම.නි. (උද්දෙසවිභංග සු.)

(ආ)'නැහණිය, යම් සමාධියක් 'වෙතට' යොමු නොවූයේ ද, ඉවතට ද යොමු නොවූයේ ද, සංස්කාරයන් විසින් දැඩිලෙස පෙළා රඳවාගත් ව්‍රතයකුත් නො වේ ද, විමුක්ත ස්වභාවය නිසා ස්ථාවර වූයේ ද, ස්ථාවර බව නිසා සන්තෝෂයෙන් යුක්ත වූයේ ද, සතුටු නිසා තැතිගැන්මක් ඇතිනොවේද, නැහණිය මේ සමාධිය, අඤ්ඤා නම් වූ අර්හත් ඥානය ඵලය කොට ඇතැයි භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරන ලදී.

අං.නි. 9-5-496 (ආනන්ද සු.)

මේ ඡේද දෙක ඇසුරින් 'අසංහීරං' 'අසංකුප්පං' යන දෙපදයෙහි අර්ථ සීමාවන් ගැන අදහසක් ඇති කරගත හැකිවේ. විඤ්ඤාණය පිළිබඳව ඇතුළත නො පිහිටි බවක් (අජ්ඣත්තං අසණ්ඨිතං' - (ආ) ඡේදය) සඳහන්වීම, භද්දෙකරත්ත සූත්‍රයෙහි විසි ආකාර සක්කාය දිට්ඨිය අනුව 'සංහීරති' යන්න විග්‍රහ කරන ලද ආකාරය සිහිගන්වන සුලුය. එමෙන් ම, 'වෙතට යොමු නො වූ' (න ච අභිනතො - 'ආ' ඡේදය) යන්නෙන් හැඟෙනුයේ ද 'ඇතුළට - ඇරුණු' (Introvert) ආකල්පයකින් තොර බව ය. එය ද ප්‍රස්තුත පදයෙහි අර්ථාන්තරයනට සබඳකම් දක්වන්නකි. එසේ ම, විඤ්ඤාණය බැහැරට වික්ෂිප්ත ව විසිර නො යේ ද (බහිද්ධාච'ස්ස විඤ්ඤාණං අවික්ඛිත්තං අවිසටං' - 'අ' ඡේදය) යන යෙදුමක්,

'ඉවතට යොමු නො වූ' (නවා'පතතො 'ආ' ඡේදය) යන්නත් 'පිටතට - හැරුණු' (extrovert) ආකල්පයකින් තොරබව විශේෂ අවධාරණයකින් හඟවන අතර 'අසංකුප්පං' යන පදයට සමාන අරුතක් ද දනවයි.

'තුන්වැන්නක්' වශයෙන් අප ඉහත සඳහන් කළ ආකල්පය එහි නොමැති බව මේ ඡේද දෙක ප්‍රකාශ කරන්නේ 'අල්වා නොගැන්ම නිසා නැති ගැන්මක් නො වේ ද' ('අනුපාදාය න පරිතස්සයා' - 'අ' ඡේදය) සහ සංස්කාරයන් විසින් දැඩි ලෙස පෙළා රඳවා ගත් ව්‍රතයක් ද නොවේ ද, (න සසංඛාරනිග්ගය්හ වාරිතවතො' - 'ආ' ඡේදය) යන වචනවලිනි. වඩාත් පැහැදිලි ප්‍රකාශය ඉදිරිපත් කැරෙන්නේ පසුව දැක්වූ පාඨයෙනි. එයින් නැඟෙන ප්‍රතිෂේධයෙන් ධ්වනිත වන්නේ, රාග-දෝස, අනුනය-පටිඝ, සංඛිත්ත-විකඛිත්ත යන අන්ත දෙක සමහන් කිරීමෙහි ලා කවර අන්දමේ ලෞකික සමාධියකින් නමුදු දරනු ලබන අඩාල තැන, 'සංස්කාර' නම් වූ චෛතසික බලවේගයන් හා අවශ්‍යයෙන් ම බැඳී ඇති බවය. මේ සංස්කාර මඟින් සමාධිය කෙතරම් දැඩි ලෙස පාලනය කරනු ලබන්නේ ද කිවහොත්. කොපමණ සියුම් සමාධියක් ලෙස පෙනෙන තැනෙක වුව ඇති තියම තත්ත්වය බලයෙන් රඳවා ගත් දැඩි කර්ෂණයක් හෝ පීඩනයක් හෝ පමණක් බව කිවයුතු සේය. එබැවින් සංඛත ස්වභාවයකින් යුත් අනෙකුත් දේ මෙන් ම ලෞකික සමාධියත්, එහි උපරිම මට්ටමේ දී පවා ලබා දෙන්නේ හුදෙක් කම්පනයක් මත ගොඩනැගුණු ශාන්තියක් පමණි. (කුප්ප පටිච්ච සන්ති' - සු.නි.ගා. 788) එනමුත් රහතන් වහන්සේගේ ආශ්චර්යාද්භූත සමාධිය වූ කලී සියලු සංස්කාරයන්ගේ සංසිඳවීම නිසා ම ('සබ්බ සංඛාරසමථ') ඉහත කී 'තුන්වැන්නෙන්' ද සපුරා මිදුණු තත්ත්වයෙකි. එහෙයින් ම එය අකම්ප්‍ය චිත්ත විමුක්තියක් ('අකුප්පා චෙතො විමුත්ති') ලෙස හඳුන්වනු ලැබේ. සංස්කාරයන්ගේ සංසිඳීම හා සමඟ ම, මනසිකාරය ඇද-බැඳ-රඳවාගන්නාසුලු සියලු උපධීහු ද අතහරිනු ලැබෙත් ('සබ්බූපධිපටිනිස්සග්ග). එතකුදු වුවත් මේ අපූර්ව සමාධිය, හුදු නිඳිබර අලසබවක් බවට පත් නොවන්නේ, එය සංස්කාර

නිරෝධය නම් වූ නිර්වාණමය ශාන්තිය මනසිකාරයට ලක්කර ගන්නා බැවිනි.[20] එබඳු සමාධියෙක ස්වභාවය ගැන අනඳ තෙරුන් වහන්සේ නඟන ප්‍රශ්නයකට පිළිතුරු වශයෙන් බුදුන් වහන්සේ දී වදාළ පහත සඳහන් විවරණය මෙහිදී සාධක වශයෙන් දැක්විය හැකි ය.

"මෙහි ලා ආනන්දය, භික්ෂුවක් මෙසේ මෙනෙහි කරයි. මෙය ශාන්තය, මෙය ප්‍රණීත ය, (එනම්) සියලු සංස්කාරයන්ගේ සන්සිඳීම සියලු උපධීන් අතහැර දැමීම, තණ්හාව ක්ෂය කිරීම, නොඇල්ම, නැවැත්ම, නිවීම, (යනුවෙනි). මෙසේ ය, ආනන්ද, භික්ෂුවකට එබඳු සමාධි ප්‍රතිලාභයක් විය හැක්කේ. කෙබඳු ද යත්, (හෙතෙම එහිදී) ඇස මෙනෙහි නොකරන්නේය, රූපය මෙනෙහි නොකරන්නේ ය. කණ මෙනෙහි නොකරන්නේ ය, ශබ්දය මෙනෙහි නොකරන්නේ ය. නැහැය මෙනෙහි නොකරන්නේ ය, ගඳ-සුවඳ මෙනෙහි නොකරන්නේය, දිව මෙනෙහි නොකරන්නේ ය, රසය

---

20 සියලු සංස්කාරයන්ගේ සංසිඳීම නිසා රහතන් වහන්සේට නිවන පරම ශාන්ත තත්ත්වය ලෙස (පරමා සන්ති) වැටහෙයි. 'රහදො ච නිවාතොව - අනෙජො වූපසම්මති' - ඉති. (සිතනිපාත): වාතය නොහමන තැනෙක විලක් මෙන් තණ්හා පැළැඹුම් රහිත වූයේ සන්සිඳෙයි.

සසඳන්න

ෂොපෙන් හුවර් - 'ලෝකය එහි නියම හැඩහුරුවෙන් - එහි යථා ස්වරූපය සම්පූර්ණව, නිරවද්‍යව විදහාපාමින් විද්‍යමාන වන්නේ බුද්ධිය චේතනාවේ බැම්මෙන් මිදී, නිවහල්ව, අරමුණු සිසාරා විහිද යන විටය. චේතනාවේ මෙහෙයීමෙන් තොර වූ නමුදු එය උද්‍යෝගිමත් ක්‍රියාශීලීත්වයකින් යුක්තය. ඇත්ත වශයෙන් ම මෙය බුද්ධියෙහි ස්වභාවයටත්, නියාමයටත් පටහැනි වූවකි. මෙසේ බලන කල මේ තත්ත්වය තරමක් දුරට අස්වාභාවිකය. එහෙයින් ම එය අතිශයින් දුර්ලභ සිද්ධියක් ද වේ. එසේකුදු වුවත්, නියම උත්කෘෂ්ට බුද්ධි ප්‍රභාවයක් පිළිබඳ ධර්මතාව ද, මෙකී දුර්ලභත්වය මත ම රඳා පවතින්නාකි. මේ තත්ත්වය උසස් මට්ටමකින් සෑහෙන කාලයක් පවතින්නේ මෙම උත්කෘෂ්ට බුද්ධි ප්‍රභාවය තුළ පමණි. අන්‍යයන් තුළ එය දක්නට ලැබෙන්නේ යන්තමින් හා අනියම් වශයෙනි.
The World as Will and Representation, ii, 381 - 2.
(බලන්න; Schopenhauer and Buddhism Wh. 144-146, p. 66 - Bhikkhu Ñanajivako).

මෙනෙහි නොකරන්නේය, කය මෙනෙහි නොකරන්නේ ය, පහස මෙනෙහි නොකරන්නේය, පොළොව මෙනෙහි නො කරන්නේය, ජලය මෙනෙහි නොකරන්නේය, ගින්න මෙනෙහි නොකරන්නේය, සුළඟ මෙනෙහි නොකරන්නේය, ආකාසානඤ්චායතනය මෙනෙහි නොකරන්නේ ය, විඤ්ඤාණඤ්චායතනය මෙනෙහි නොකරන්නේ ය, ආකිඤ්චඤ්ඤායතනය මෙනෙහි නොකරන්නේ ය, නෙවසඤ්ඤානාසඤ්ඤායතනය මෙනෙහි නො කරන්නේය, මෙලොව මෙනෙහි නොකරන්නේය, පරලොව මෙනෙහි නොකරන්නේ ය, දුටු, ඇසූ, දැනුණු, දැනගත්, සිතින් පැමිණි, සෙවූ විමසා බැලූ යමක් වේ ද, එය ද මෙනෙහි නොකරන්නේ ය, එහෙත් මෙනෙහි ද කරන්නේ ය" (අං.නි. 9-6-606) මනසිකාර සූ.)

අභිසංඛත විඤ්ඤාණයට ආවේණික වූ ආකර්ෂණ-අපකර්ෂණ ආලම්බනයන් සියල්ලක් ම සමතික්‍රමණය කරමින් විමුක්ත පුද්ගලයා මෙසේ 'අසංහීර-අසංකුප්‍ය' ස්වභාවයෙන් යුතු උත්තරීතර මානසික සමතුලිත බවකට පත්ව සිතුවිලිවලින් තොර වූ දැහැනක් වඩයි.

'පස්සද්ධකායො සුවිමුත්තචිත්තො
අසංඛරානො සතිමා අනොකො
අඤ්ඤාය ධම්මං අවිතක්කඣායී
න කුප්පති න සරති න ථීනො
එවං විහාරී බහුලො'ධ භික්ඛු
පඤ්චොඝතිණ්ණො අතරීධ ඡට්ඨං
එවං ඣායිං බහුලං කාමසඤ්ඤා
පරිබාහිරා හොන්ති අලද්ධායො තං'

සං.නි. i. 230 මාරධීතු සූ. (බු.ජ.ත්‍රි.)

සන්හුන් කයැත්තේ - සුවිමුත් සිතැ'ත්තේ

සැකැසුම් නැවැත්තේ[21] - සතිමත් තැනැත්තේ

නිවහන් නොගත්තේ[22] - නිවනයි දැනැ'ත්තේ

සිතුමෙන් වියුත්තේ[23] - දැහැනක් ය ඇත්තේ

කිපුමක් නොමැත්තේ - සැමැරුම් ද නැත්තේ

අනලස් පැවැත්මෙන් - මැළිකම් හැරැත්තේ

බෙහෙවින් මෙවන් - විහරණයෙන් ම යුත්තේ

පස්මහා සැඩවතුරු තරණයෙන් නො නැවතී

සවැන්නත් එතෙරවී[24] දැහැන් වන් මහණ හට

සන් නොදී කාමයෝ - ළං නොවී බැහැරි වෙත්'.

---

21 'අසංඛරානො' - මෙයින් සංස්කාරයන්ගේ සන්සිඳීම අදහස් කැරෙයි.

22 'අනොකො' සසඳන්න : ගෘහපතිය, රූප ධාතුව විඤ්ඤාණයට නිවහනකි (ඔකො) වේදනා ධාතුව ..... සඤ්ඤා ධාතුව ... සංඛාර ධාතුව විඤ්ඤාණයට නිවහනකි,.....

සං.නි. ii - 16 (හාලිද්දිකානි සු.) බු.ජ.ත්‍රි.

23 'අවිතක්කජ්ඣායී' : අටුවාවට අනුව (සා.ප. i. 147) මෙය චතුර්ථධ්‍යානය අඟවන පදයෙකි. එහෙත් මේ පදය රහතන් වහන්සේගේ අද්විතීය වූ සමාධිය පිළිබඳව යෙදෙන විට වඩාත් ගැඹුරු අරුතක් දනවයි. එයින් හැඟෙන්නේ හුදෙක් විතර්ක නොමැති බව ම නොවේ. (එය නම් ප්‍රථම ධ්‍යානය හැර අනෙක් සියලුම ධ්‍යානයනට පොදු වූ ලක්ෂණයකි). විෂය - විෂයීද්වයතාව සහිත මුළු මහත් සංඥා සංකල්පමය ගොඩනැගිල්ලෙහි පදනම සම්පූර්ණයෙන් ම කිඳ හෙළන ලද බව එයින් හැඟෙයි.

සසඳන්න:

'අවිතක්ක - සමාධි - උදාන (සුභූති සු.), 'අවිතක්කං සමාපන්නො' - ථෙර. ගා 650, 'අවිතක්කස්සලාභිනී' - ථෙරී ගා. 75 (විමලා) 'ඣායති අනුපාදානො' - ථෙර ගා. (භද්දිය).

24. ඉන්ද්‍රිය දොරටු සයෙන් ගලා එන කෙලෙස් සැඩ වතුරු

සැඩ ගංවතුරු හමුවෙහි
ජර - මරු දෙදෙන වසයෙහි
විල මැද සිටින සතහට
කියනෙමි, කප්ප, දිවයින

රැකගන්න කිසිත් නැති
ඇදගන්න රිසිත් නැති
බව මැ' - දිවයින යි එ මැ
අනෙකකට නොවන සම

'නිවන, යැයි එය මැ මම
හඳුන්වමි - එය යි නම
ජර ද එහි දිරුණු වැනි
මරු ද එහි මැරුණු වැනි.

කප්පමාණව පුච්ඡා සු.නි.ගා. 1098-1099

# ආශ්‍රිත ග්‍රන්ථ

පාරා. - පාරාජිකා පාළි
චූ.ව. - චූල්ලවග්ග පාළි
දී.නි. - දීඝ නිකාය
ම.නි. - මජ්ඣිම නිකාය
සං.නි. - සංයුත්ත නිකාය
අං.නි. - අඞ්ගුත්තර නිකාය
ධ.ප. - ධම්මපද
උදාන - උදාන පාළි
ඉති. - ඉතිවුත්තක පාළි
සු.නි. - සුත්ත නිපාත
ථෙර ගා. - ථෙර ගාථා
ථෙරී ගා. - ථෙරී ගාථා
මහා නි. - මහා නිද්දෙස
නෙත්ති. - නෙත්තිප්පකරණ
ප.සූ. - පපඤ්චසූදනී
සා.ප. - සාරත්ථප්පකාසිනී
මනො. - මනොරථපූරණී
නෙත්ති.අ. - නෙත්තිප්පකරණ අට්ඨකථා
බුජ.ත්‍රි. - බුද්ධ ජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලා
හේ.මු. - සයිමන් හේවාවිතාරණ මුද්‍රණය

## ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පළකරන ලද ග්‍රන්ථ

| | ග්‍රන්ථ නාමය | | පිටපත් සංඛ්‍යාව |
|---|---|---|---|
| 01. | නිවනේ නිවීම | පළමු වෙළුම | 6000 |
| 02. | නිවනේ නිවීම | දෙවන වෙළුම | 8000 |
| 03. | නිවනේ නිවීම | තෙවන වෙළුම | 2000 |
| 04. | නිවනේ නිවීම | සිවුවන වෙළුම | 6000 |
| 05. | නිවනේ නිවීම | පස්වන වෙළුම | 5000 |
| 06. | නිවනේ නිවීම | සයවන වෙළුම | 3500 |
| 07. | නිවනේ නිවීම(පුස්තකාල මුද්‍රණය) | ප්‍රථම භාගය(1-6 වෙළුම්) | 500 |
| 08. | නිවනේ නිවීම | සත්වන වෙළුම | 3000 |
| 09. | නිවනේ නිවීම | අටවන වෙළුම | 2000 |
| 10. | නිවනේ නිවීම | නවවන වෙළුම | 3000 |
| 11. | නිවනේ නිවීම | දසවන වෙළුම | 3000 |
| 12. | පහන් කණුව ධර්ම දේශනා | පළමු වෙළුම | 9000 |
| 13. | පහන් කණුව ධර්ම දේශනා | දෙවන වෙළුම | 8000 |
| 14. | පහන් කණුව ධර්ම දේශනා | තෙවන වෙළුම | 3000 |
| 15. | පහන් කණුව ධර්ම දේශනා | සිවුවන වෙළුම | 3000 |
| 16. | 'හිතක මහිම' | පළමු වෙළුම | 3000 |
| 17. | 'හිතක මහිම' | දෙවන වෙළුම | 3000 |
| 18. | උත්තරීතර හුදෙකලාව | | 8000 |
| 19. | විදසුන් උපදෙස් | | 4000 |
| 20. | Towards A Better World | | 3000 |
| 21. | Seeing Through | | 3000 |
| 22. | Nibbana - The Mind Stilled | Volume I | 3000 |

### මුද්‍රණය කළ යුතුව ඇති ග්‍රන්ථ

1. පහන් කණුව ධර්ම දේශනා — දෙවන වෙළුම
2. පහන් කණුව ධර්ම දේශනා — තෙවන වෙළුම
3. පහන් කණුව ධර්ම දේශනා — පස්වන වෙළුම
4. නිවනේ නිවීම — එකොළොස්වන වෙළුම
5. Nibbana - The Mind Stilled — Volume II

නැවත මුද්‍රණය කරවීම පිළිබඳ විමසීම් :-
ජී. ටී. බණ්ඩාර,
ස්ථාපක, ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය
රෝයල් ඉන්ස්ටිටියුට්, 191, හැව්ලොක් පාර, කොළඹ 5.

# වෙනත් කෘති

1. Concept and Reality in Early Buddhist Thought -(1971)*
2. Samyutta Nikaya - AnAnthology, Part II - Wheel No, 183/185 -(1972)*
3. Ideal Solitude - Wheel No, 188 - (1973)*
4. The Magic of the Mind - (1974)*
5. උත්තරීතර හුදෙකලාව -'දම්සක්' අංක 172/173 - (1990)*
   -එම- (නව මුද්‍රණය), ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය (2001)
6. Towards Calm and Insight - (1991)
7. විදසුන් උපදෙස් - (1996)
8. නිවනේ නිවීම - (1997 -.......)
   -ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය, මහා භාරකාර දෙපාර්තමේන්තුව
   (වෙළුම් 10 ක් මේ දක්වා නිකුත්වී ඇත. සම්පූර්ණ පොත වෙළුම් 11 කි.)
9. From Topsy - turvydom to Wisdom -Volume I - (1998)
   (Essays written for 'Beyond the Net, - A website on the Internet
   - Website address http:// www.beyond thenet.net)
10. පහන් කණුව ධර්ම දේශනා - 1- වෙළුම - (1999)
11. Seeing Through - (1999)
12. හිතක මහිම - 1 - (1999)
13. නිවනේ නිවීම - ප්‍රථමභාගය - (1-6 වෙළුම්) - පුස්තකාල මුද්‍රණය (2000)
14. හිත තැනීම - (2000)
15. පහන් කණුව ධර්ම දේශනා - 2 වෙළුම - (2000)
16. Towards A Better World -Translation of 'Lo-wada-Sangarava' - (2000)
17. පැවැත්ම හා නැවැත්ම - (2000)
18. ඇසී හැටි දැක්ම - (2001)
19. පහන් කණුව ධර්ම දේශනා - 3 වෙළුම - (2001)
20. දිවි කතරේ සැඳෑ අඳුර - (2001)
21. කය අනුව ගිය සිහිය - (2001)
22. මා-පිය උවැටන - (2002)
23. ප්‍රතිපත්ති පූජාව - (2003)
24. Nibbana - The Mind Stilled - Volume I - (2003)
25. පහන් කණුව ධර්ම දේශනා - 4 වෙළුම - (2003)

* Buddhist Publication Society, P.O. Box, 61, Kandy
බෞද්ධ ග්‍රන්ථ ප්‍රකාශන සමිතිය, තැ.පෙ. 61, මහනුවර